| ०१ प्रथमः पाठः। |
|---|

# अमृतवाणी संस्कृतभाषा।

## वर्णोच्चारणविधिः।

සංස්කෘත භාෂාව භාරතයේ දැනට පවතින පුරාණතම ව්‍යාවහාරික භාෂාවකි. විධිමත් ව සකස්කරගත් භාෂාවක් වන බැවින් ඊට ''**සංස්කෘත**'' යන නම භාවිත කෙරේ. ''**දෛවීභාෂා**''යන අපර නාමයෙන් ද හඳුන්වනු ලබන මෙම භාෂාව ශුද්ධ **භාෂාවක්, සාංස්කෘතික භාෂාවක්, ධාර්මික භාෂාවක්, ඓතිහාසික භාෂාවක්, සාහිත්‍යයික භාෂාවක්, වෛඥානික භාෂාවක්, ප්‍රභාවෝත්පාදක භාෂාවක් හා විශ්වභාෂාවක්** හැටියට සුප්‍රසිද්ධ ය. සංස්කෘත භාෂාව ලියා දැක්වීම සඳහා භාවිත කරන්නේ **දේවනාගරී අක්‍ෂරමාලාව යි.** අක්ෂරමාලාව යනු **දෘශ්‍ය සංකේතාවලියකි.** කථා කිරීමේ දී මුවින් නිකුත් වන ශබ්ද ලියා දක්වන දෘෂ්ටිගෝචර සංකේත, **අක්‍ෂර** හෙවත් **අකුරු** නමින් හැඳින්වේ.

සංස්කෘත භාෂාවේ සියලු අක්‍ෂර හතළිස් නවය (49)කි. එම අක්‍ෂරමාලාව **ස්වර** හා **ව්‍යඤ්ජන** වශයෙන් ප්‍රධාන කොටස් දෙකකට බෙදේ. ස්වර දාහතර (14)කි. ව්‍යඤ්ජන තිස්පහ (35)කි. පහතින් දැක්වෙන්නේ ඔබ මීට පෙර උගත් සංස්කෘත වර්ණමාලාවේ බෙදීම් ඇතුළත් සටහන් කිහිපයකි.

ස්වර 14

ව්‍යඤ්ජනාක්‍ෂරයන්ගේ උපකාරයක් නොමැති ව තනි ව උසුරුවනු ලබන අකුරු **ස්වරාක්‍ෂර** නම් වේ.

| ස්වර 14 | अ | आ | इ | ई | उ | ऊ | ऋ | ॠ | ऌ | ॡ | ए | ऐ | ओ | औ |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| හ්‍රස්ව 05 | अ | इ | उ | ऋ | ऌ | | | | | | | | | |
| දීර්ඝ 09 | आ | ई | ऊ | ॠ | ॡ | ए | ऐ | ओ | औ | | | | | |
| ප්ලුත | මාත්‍රා තුනක උච්චාරණ කාලයක් ගත වන්නා වූ හඬ ප්ලුත නම් වේ. ගායනය, හැඬීම, දුර සිටින අයෙකුට අඬ ගැසීම හා විචාරය ආදි අවස්ථාවල දී අකුරු ප්ලුත ව කියවේ. වචන අවසානයේ ඇදී කියවීම ප්ලුත ස්වභාවය යි. ප්ලුතය ලියා දැක්වීමට නොහැකි ය. | | | | | | | | | | | | | |
| සන්ධ්‍යක්‍ෂර 04 | ए | ऐ | ओ | औ | | | | | | | | | | |

| නාමින් / අනාමින් | අක්ෂරමාලාවේ **अ, आ** දෙක අනාමින් වන අතර අනෙක් සියලු ම ස්වර නාමින් නම් වේ. |
|---|---|
| සමාන / සවර්ණ | **अ इ उ ऋ ऌ** යන අකුරු පහ ලිවීමේ භේද වශයෙන් හා උච්චාරණ කාල වශයෙන් සමාන බැවින් සමාන / සවර්ණ නම් වේ. |

ව්‍යඤ්ජන 35

ස්වරාක්ෂරයන්ගේ උපකාරයක් නොමැති ව තනි ව උච්චාරණය කළ නොහැකි වර්ණ සමූහය **ව්‍යඤ්ජන** නම් වේ. (ස්වර සංයුක්ත ව්‍යඤ්ජන)

| | | | | | |
|---|---|---|---|---|---|
| कवर्ग | क | ख | ग | घ | ङ |
| चवर्ग | च | छ | ज | झ | ञ |
| टवर्ग | ट | ठ | ड | ढ | ण |
| तवर्ग | त | थ | द | ध | न |
| पवर्ग | प | फ | ब | भ | म |
| अन्तःस्थ | य | व | र | ल | |
| ऊष्मन् | श | ष | स | ह | |
| अनुस्वार | अं | | | | |
| विसर्ग | अ (ः) | | | | |

| स्वराः | | व्यञ्जनानि | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | अघोषशब्दाः | | घोषशब्दाः | | | | | | | अघोषशब्दाः |
| | | वर्गाक्षराः | | | | | | | | | |
| ह्रस्वस्वर | दीर्घस्वर | अल्पप्राण | महाप्राण | अल्पप्राण | महाप्राण | अल्पप्राण नासिक्य | अन्तःस्थ अर्धस्वर | ऊष्माक्षर | अनुस्वार | विसर्ग | ऊष्माक्षर |
| अ | आ | क | ख | ग | घ | ङ | य | ह | अँ | अः | श |
| इ | ई | च | छ | ज | झ | ञ | व | | | | ष |
| उ | ऊ | ट | ठ | ड | ढ | ण | र | | | | स |
| ऋ | ॠ | त | थ | द | ध | न | ल | | | | |
| ऌ | ॡ | प | फ | ब | भ | म | | | | | |
| गुण | ए | | | | | | | | | | |
| वृद्धि | ऐ | | | | | | | | | | |
| गुण | ओ | | | | | | | | | | |
| वृद्धि | औ | | | | | | | | | | |

ස්වර පරිණාම වගුව

සංස්කෘත භාෂාවේ ස්වරාක්ෂරයන්ගේ වර්ධන අවස්ථා පහත වගුවේ දැක්වේ. මෙම ස්වර පරිණාම වීම පිළිබඳ දැනුම සන්ධි කාර්යයේ දී වැදගත් වේ.

| ह्रस्व | दीर्घ | गुण | वृद्धि | व्यस्थ | अर्धस्वर |
|---|---|---|---|---|---|
| अ | आ | × | आ | × | × |
| इ | ई | ए | ऐ [ अय् ] → | आय् → | य् |
| उ | ऊ | ओ | औ [अव् ] → | आव् → | व् |
| ऋ | ॠ | अर् | आर् → | → | र् |
| ऌ | ॡ | अल् | आल् → | → | ल् |

උච්චාරණ අවයව පද්ධතිය අනුව අක්ෂරයක හඬ නිපදවීම සඳහා ප්‍රධාන අවයව පහක් අතිශයින් ම උපකාරී වේ. මෙම ස්ථාන අක්ෂරෝත්පත්තිස්ථාන යනුවෙන් හඳුන්වයි.




१. कण्ठः
२. तालुः
३. मूर्धा
४. दन्ताः
५. ओष्ठौ
६. नासिका

| | |
|---|---|
| कण्ठ्य | කණ්ඨය හෙවත් ගෙළ ඇසුරු කොටගෙන උපදින ශබ්ද |
| तालव्य | තල්ල ඇසුරු කොටගෙන උපදින ශබ්ද |
| मूर्धन्य | උඩුතල්ල ඇසුරු කොටගෙන උපදින ශබ්ද |
| दन्त्य | දත් ඇසුරු කොටගෙන උපදින ශබ්ද |
| ओष्ठ्य | දෙතොල් ඇසුරු කොටගෙන උපදින ශබ්ද |
| नासिक्य | නාසය ඇසුරු කොටගෙන උපදින ශබ්ද |
| कण्ठतालव्य | ගෙළ හා තල්ල ඇසුරු කොටගෙන උපදින ශබ්ද |
| कण्ठौष्ठ्य | ගෙළ හා තොල් ඇසුරු කොටගෙන උපදින ශබ්ද |
| दन्तौष्ठ्य | දත් හා දෙතොල් ඇසුරු කොටගෙන උපදින ශබ්ද |
| अनुनासिका | නාසය ඇසුරු කොටගෙන උපදින ශබ්ද |

## සූත්‍රානුසාරයෙන් අක්ෂරෝත්පත්තිස්ථාන හඳාරමු.

| | |
|---|---|
| अकुहविसर्जनीयानां कण्ठः | अ, आ, क, ख, ग, घ, ङ, ह, ः කණ්ඨජ අකුරු වේ. |
| इचुयशानां तालु | इ, ई, च, छ, ज, झ, ञ, य, श තාලුජ අකුරු වේ. |
| ऋटुरषाणां मूर्धा | ऋ, ॠ, ट, ठ, ड, ढ, ण, र, ष මූර්ධජ අකුරු නම් වේ. |
| ऌतुलसानां दन्ताः | ऌ, ॡ, त, थ, द, ध, न, ल, स දන්තජ අකුරු වේ. |
| उपूपध्मानीयानामोष्ठौ | उ, ऊ, प, फ, ब, भ, म ඕෂ්ඨජ අකුරු වේ. |
| एदैतोः कण्ठतालुः | ए ,ऐ කණ්ඨතාලුජ අකුරු වේ. |
| ओदौतोः कण्ठौष्ठम् | ओ,औ කණ්ඨෝෂ්ඨජ අකුරු වේ. |
| वकारस्य दन्तौष्ठम् | व දන්තෞෂ්ඨජ වේ. |
| ङञणनमानां नासिका | ङ, ञ, ण, न, म යන අකුරු නාසික්‍ය වේ. |
| जिह्वामूलीय - उपध्मानीय | ක, ඛ, දෙකට පෙරටුව සිටි ≍ ලකුණ ජිහ්වාමූලීය ( ≍ ක, ≍ ඛ,) හා ප, ඵ දෙකට මුලින් සිටි ≍ ලකුණ උපධ්මානීය (≍ ප, ≍ ඵ) නමින් හැඳින් වේ. |

අප මෙතෙක් ඉගෙනගත් සංස්කෘත අක්ෂරමාලාවේ සියලු බෙදීම් පහත පරිදි වගුගත කළ හැකි ය.

| | स्वराः | | व्यञ्जनानि | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | | अघोषशब्दाः | | घोषशब्दाः | | | | | | | अघोषशब्दाः |
| | | | वर्गाक्षराः | | | | | | | | | |
| | ह्रस्वस्वर | दीर्घस्वर | अल्पप्राण | महाप्राण | अल्पप्राण | महाप्राण | अल्पप्राण नासिक्य वर्गान्त | अन्तःस्थ अर्धस्वर | ऊष्मन् | अनुस्वार | विसर्ग | ऊष्मन् |
| कण्ठज | अ | आ | क | ख | ग | घ | ङ | | ह | अँ | अ(ः) | |
| तालुज | इ | ई | च | छ | ज | झ | ञ | य | | | | शः |
| मूर्धज | उ | ऊ | ट | ठ | ड | ढ | ण | र | | | | ष |
| दन्तज | ऋ | ॠ | त | थ | द | ध | न | ल | | | | स |
| ओष्ठज | ऌ | ॡ | प | फ | ब | भ | म | | | | | |
| कण्ठतालु | ए | | | | | | | | | | | |
| | | ऐ | | | | | | | | | | |
| कण्ठौष्ठज | | ओ | | | | | | | | | | |
| | | औ | | | | | | | | | | |
| दन्तौष्ठज | | | | | | | | व | | | | |

**හලන්ත**

क ක සිට ह හ දක්වා ඇති වර්ණ රාශිය ස්වරයක ආධාරයෙන් තොර ව උච්චාරණය කළ නොහැකි ය. ඉහත ඇත්තේ ස්වර සංයුක්ත ව්‍යඤ්ජන වර්ණයෝ යි. ඒවායේ ශුද්ධ ස්වභාවය මෙපරිදි ය.

क् ख् ग् घ् ङ् - च् छ् ज् झ् ञ् - ट् ठ् ड् ढ् ण् - त् थ् द् ध् न्
प् फ् ब् भ् म् - य् र् ल् व् - श् ष् स् ह्

මෙම අක්ෂර සිංහල භාෂාවේ හැඳින්වෙන්නේ "හල්" අකුරු නමිනි. හල් කිරීමේ ලකුණ දේවනාගරීවල යෙදෙන්නේ අකුරුවලට යටිනි. ස්වර හා සංයෝග නොවූ මෙම ව්‍යංජන හලන්ත හෙවත් හල් අකුරු නමින් හැඳින්වේ.

**ක්‍රියාකාරකම 1.1**

01. ඔබ ඉහත ඉගෙන ගත් සංස්කෘත අක්ෂරමාලාව පහත වගුවට අනුව සකසන්න.

| स्वराः | | | | | |
|---|---|---|---|---|---|
| ह्रस्वाः | दीर्घाः | गुणाः | वृद्धयः | नामिनः | सन्ध्यक्षराणि |
| | | | | | |

02. ඔබ ඉහත ඉගෙන ගත් සංස්කෘත අක්ෂරමාලාව පහත වගුවට අනුව සකසන්න.

| व्यञ्जनानि | | | | | |
|---|---|---|---|---|---|
| अल्पप्राणाः | महाप्राणाः | नासिक्याः | अन्तःस्थाः | ऊष्मन् | सन्ध्यक्षराणि |
| | | | | | |

03. පහත භාජනයේ ඇති අක්ෂරවලින් ඝෝෂාක්ෂර හා අඝෝෂාක්ෂර වෙන්කර වෙන වෙන ම ලියා දක්වන්න.






**ක්‍රියාකාරකම 1.2**

01. පහත අක්ෂර අතරින් වර්ගාක්ෂර වෙන් කර ලියන්න.

ञ ओ य थ अ इ ऐ ग ऊ ॠ ई घ ङ श ब
ठ ख ह औ उ आ छ ऌ ए प त ट ल र
द ड ज ढ ध भ न म च ॡ ष ण फ स क
व झ अँ अः

**ක්‍රියාකාරකම 1.3**

01. පහත සඳහන් ඡේදය සිංහල අක්ෂර භාවිත කර නිවැරදි ව ලියන්න.

## अनृतभाषिणो मेषपालस्य ।

आसीदेकस्मिन् ग्रामे कश्चिन्मेषपालः। स कदाचित् सुदूरमनयत् स्वयूथम्। बहवो वृक्षास्तत्रासन् निबिडा च तेषां छाया। रविकिरणा अपि क्वचित् क्वचिदेव प्रवेशमलभन्त तस्मिन्स्थाने। मध्याह्नेऽपि सुशीतलं तत्स्थलम्। विपुलानि तृणपर्णानि निर्मलाश्च बहवो निर्झरा आसन् स्थाने स्थाने। तत्र कस्यचित्तरोर्मूले विश्रान्तिमनुभवतस्तस्य यूनो मनसि समुत्पन्नः सहसैवैष विचारः। निर्जनमेतद्वनम्। यदि कश्चिदन्यपशुरत्रापतेत् तर्हि किं करिष्यामि। असहायोऽहमेतैर्मेषैः सह तस्य भक्ष्यमवश्यं भविष्यामि। परीक्षे तावद्यदि कोऽपि मानुषोऽत्र समीपे तिष्ठति न वेति। एवं संप्रधार्य भो भो वृक इहायातो वृक इहायात इत्युच्चैराक्रोशत् स युवा। एतच्छ्रुत्वा समीपस्थाः क्षेत्रपालाः शस्त्राण्यादाय तत्र प्राप्ताः सत्वरं साहाय्यार्थं तान् दृष्ट्वाप्रीतमनाः स मेषपालोऽवदत्। नात्र वृकः परं समीपे जनानां निवासो विद्यते न वेति ज्ञातुमेवाहं तथाऽक्रोशामिति। एतद्वचनं निशम्य यथागतं निवृत्तास्ते कृषीवलाः अन्येद्युस्तथैव विनोदार्थं स आक्रोशत्। पुनरपि शस्त्रपाणीन् जनानागतान् दृष्ट्वाऽसौ पर्यहसद् वृको नास्तीति चावदत्। इत्थं बहुवारं वञ्चितास्तेप्रातिवेशिकास्तेन मिथ्यावादिना।

अथैकस्मिन् दिने परमार्थत एकः तत्रायातः केचिद् वृका मेषाणां गन्धेनाकृष्टाः। तान्दृष्ट्वा भीतिग्रस्तः स युवा “वृका आयाता वृका आगता” इत्याक्रोशत्। यथापूर्वमुच्चैः समाह्वयच्च प्रातिवेश्यान्। परं तत्राद्य न यामो यतः स दुर्मतिरस्मान् वञ्चयति परिहसति चेति तैर्प्रातिवेशिकैर्मिथो निश्चितम्। अथ साहाय्यार्थमनागतेषु जनेषु वृकैर्भक्षिता बहवो मेषाः। स पालकोऽपि किंचित् पीडितः।
एवमनृतभाषिणस्तस्य प्राप्तो दण्डः।

नासत्यवादिनः पुण्यं न सख्यं न यशो भुवि।
दृश्यते नापि कल्याणं कालकूटमिवाशन्तः॥

(अभिनवापाठावली २)

**ක්‍රියාකාරකම 1.4**

01. ඉහත සඳහන් කළ උත්පත්ති ස්ථානයන්ට අනුව පංතියේ කණ්ඩායම් වශයෙන් ශබ්ද නගා අක්ෂරෝච්චාරණය කරන්න.

02. සංස්කෘත අක්ෂරමාලාව ආශ්‍රයෙන් පහත වගුව සම්පූර්ණ කරන්න.

| | |
|---|---|
| कण्ठजाः | |
| तालुजाः | |
| मूर्धजाः | |
| दन्तजाः | |
| ओष्ठजाः | |
| नासिक्याः | |
| कण्ठतालुजौ | |
| कण्ठौष्टजौ | |
| दन्तौष्टजः | |

**ක්‍රියාකාරකම 1.5**

01. පහත සඳහන් ප්‍රකාශනවල හිස්තැන්වලට සුදුසු පද යොදා වාක්‍ය සම්පූර්ණ කරන්න.

i. **म, क, थ, अ, ऌ, ग, ट, ह, द** යන අක්ෂරවලින් .................... යන අක්ෂර කණ්ඨජ අක්ෂර වන අතර .................... යන අක්ෂර දන්තජ අක්ෂර වේ.

ii. **ए ,ऐ** .................... අක්ෂර වන අතර **व** .................... අක්ෂරයක් වේ.

iii. **ङ, ञ, ण,न, म** යන අක්ෂර .................... අක්ෂර ලෙස හැඳින් වේ.

iv. දිවේ මුල කොටස උගුර දෙසට ළං වීමෙන් උපදින ශබ්ද.................... අක්ෂර ලෙස හැඳින් වේ.

v. ඕෂ්ඨජ අක්ෂර යනු .................... උපදින අක්ෂර වේ.

vi. එක් ස්ථානයකින් උපදින අකුරු....................නමින් හඳුන්වන අතර ද්විජ අක්ෂර යනු .................... උපදින අක්ෂරයි.

vii. වර්ගයන්ගේ පළමුවන දෙවන හා ශ, ෂ, ස යන අකුරු .................... වන අතර මහත් වූ ශබ්දයකින් උච්චාරණය වන අකුරු .................... නමින් හැඳින් වේ.

viii. ස්වර ස්වභාවයත්, ව්‍යඤ්ජන ස්වභාවයත් ඇති අකුරු .................... නමින් හඳුන්වන අතර ඒවා .................... යන අකුරු යි.

ix. වර්ගාන්ත අකුරු .................... නමින් ද හඳුන්ව යි.

x. වර්ගයන්ගේ පළමු අක්ෂර පහ .................... නමින් ද හැඳින් වේ.

**ක්‍රියාකාරකම 1.6**

01. පහත දක්වා ඇති සංස්කෘත අක්ෂරමාලාව උත්පත්ති ස්ථාන අනුව වර්ග කර ඉදිරියෙන් දක්වා ඇති කොටු තුළ ලියන්න.



अकालमेघवद्वित्तमकस्मादेति याति च।

ධනය අකල් වැස්සක් මෙනි. අහම්බෙන් මෙන් ලැබෙයි. එසේ ම නැතිවී යයි.

अक्षौभ्यतौ वमयतां महत्वस्य हि लक्षणम्।

නොකැළඹීම හා නොතැවීම උතුම් බවෙහි ලක්ෂණය යි.

अङ्कमारुह्यसुप्तं हि हत्वा किं नाम पौरुषम्।

උකුලේ නිදන්නා නසා කවර වීරත්වයක් ද?

# ०२ द्वितीयः पाठः।

# विद्या धर्मेण शोभते।

## कारकपरिचयः। ०१

වාක්‍යයක භාවිත වන නාම හා ක්‍රියාවන් අතර සම්බන්ධය දැක්වීම කාරක නම් වේ. කිසියම් නාමයක් ආඛ්‍යාතය සමග කිසිදු සබඳතාවක් නොමැති නම් එහි කාරක ස්වභාවයක් නොමැත. **ක්‍රියා නිෂ්පත්තියට හේතුවීම, ක්‍රියාසිද්ධියට අතිශයින් උපකාරීවීම** යන අර්ථලාභය කාරක තුළ පවතී. **(ක්‍රියාසිද්ධ්‍යුපකාරකං කාරකම්)**

සංස්කෘත භාෂාවේ විභක්ති හතක් ඇත. සම්බෝධන (ආලපන) උප විභක්තියකි. නාමයන් විවිධ අර්ථවලට බෙදීම ඒවායින් සිදු වේ. එබඳු ප්‍රත්‍ය විසිඑකකි. කාරක හා පවතින සම්බන්ධය පෙන්වීම සඳහා මෙම විභක්ති යොදා ගැනේ. ඉන් ප්‍රථමාවේ ම භේදයක් වන සම්බෝධන (ආලපන) හා ෂෂ්ඨී විභක්ති කාරක ගණයට නොගැනේ. ඒවායින් ක්‍රියාවකට උපකාරයක් නොලැබෙන බැවිනි. සෙසු විභක්ති හයට අදාළ කාරක හයකි.

1. කර්තෘ (ක්‍රියාව සිදුකිරීම් වශයෙන් සම්බන්ධ වේ.)
2. කර්ම (ක්‍රියාර්ථයට යටත්වීම් වශයෙන් සම්බන්ධ වේ.)
3. කරණ (ක්‍රියාවට සහාය වීම වශයෙන් සම්බන්ධ වේ.)
4. සම්ප්‍රදාන (ක්‍රියාවේ ඵලය ලැබීම්වශයෙන් සම්බන්ධ වේ.)
5. අපදාන (ක්‍රියාර්ථයට සීමාවීම් වශයෙන් සම්බන්ධ වේ.)
6. අධිකරණ (සුදුසු පරිදි කර්තෘ හා කර්මයන් දැරීම් වශයෙන් සම්බන්ධ වේ.)

ඇතැම් අවස්ථාවන්හි දී කාරකය වාක්‍යයක් ඇතුළත නාමයක විභක්තිය කුමක් විය යුතුදැයි යන්න පවා තීරණය කරයි.

උදාහරණ :-






■ පහත නිදර්ශන සාවධාන ව අධ්‍යයනය කරන්න.

- ශිෂ්‍යයා සැප කැමති වෙයි. छात्रः सुखम् इच्छति। උක්තය ලෙස
- ගුරුවරයා පොතක් කියවයි. आचार्यः पुस्तकं पठति। කර්මය ලෙස
- ශිෂ්‍යයා විසින් පොත හදාරනු ලැබේ. छात्रेण पुस्तकः पठ्यते। කර්තෘ ලෙස
- ගුරුවරයා ශිෂ්‍යයා නිසා සතුටු වෙයි. शिक्षकः छात्रेण तुष्यति। කරණ ලෙස
- ගුරුවරයා ශිෂ්‍යයාට තෑග්ගක් දෙයි. अध्यापकः छात्राय वितरणं ददाति। සම්ප්‍රදාන ලෙස
- නොදන්නාකම ශිෂ්‍යයාගෙන් බැහැරවෙයි. मूढत्वं छात्रात् बहिर्गच्छति। අපාදාන ලෙස
- ගුරුවරයා ශිෂ්‍යයා කෙරෙහි සෙනෙහස දක්වයි. गुरुः छात्रे स्निह्यति। ආධාර ලෙස

## 01. ප්‍රථමා විභක්තිය (කර්තෘකාරකය)

■ ලිංගාර්ථයෙහි ප්‍රථමා ව යෙදේ.
■ උක්තාර්ථයෙහි ප්‍රථමා ව යෙදේ.
■ සම්බෝධනයෙහි ප්‍රථමා ව යෙදේ.

- කර්ම හා කර්තෘ ආදි වෙනත් අවස්ථාවකට පත් නොවූ ශබ්ද ප්‍රකෘතීන් මෙහි ලිංගාර්ථ නම් වේ. ඒවා ප්‍රකාශ කළ යුතු කල්හි ප්‍රථමාවෙන් යොදනු ලැබේ.

**नर - नरः**
**वनिता / ज्ञानम् / तटः / तटी / तटम् / कुलम् / एकः / द्वौ / बहवः**

- අවසාන ක්‍රියාවෙන් උක්ත වන නාමය ප්‍රථමා විභක්තිය ගනී. කර්තෘකාරක වාක්‍යයක කර්තෘ ද, කර්මකාරක වාක්‍යයක කර්මය ද ප්‍රථමා විභක්තියෙන් සිටී.

वरं बुद्धिर्न सा विद्या विद्यया बुद्धिरुत्तमा ।
बुद्धिहीना विनश्यन्ति यथा ते सिंहकारकाः ॥

- ආමන්ත්‍රණයෙහි ද ප්‍රථමා ව යෙදේ.

गच्छ गच्छसि चेत् कान्त पन्थानः सन्तु ते शिवाः ।
हे देव मां रक्ष ।

- नरो विदेशं गच्छति ।
- भूपालः सिंहासने तिष्ठति ।
- हे शिष्य पुस्तकं पठ ।
- लता परोपकाराय पुष्पयति ।
- धेनुः क्षीरं वितरति ।
- हे कन्ये कूपं गच्छ ।

**ක්‍රියාකාරකම 2.1**

01. ඉහත සඳහන් වාක්‍යයන්හි ඇති උක්ත පද වෙන වෙන ම ලියා දක්වන්න.
02. ඉහත සඳහන් වාක්‍යවල ආලපන විභක්ති පද වෙන වෙන ම ලියා දක්වන්න.
03. ඉහත සඳහන් වාක්‍යවල පුරුෂලිඞ්ග, ස්ත්‍රීලිඞ්ග, නපුංසකලිඞ්ග වචන (ප්‍රථමා විභක්ති පද) වෙන වෙන ම වගුගත කරන්න.

| පුරුෂලිඞ්ග | ස්ත්‍රීලිඞ්ග | නපුංසකලිඞ්ග |
|---|---|---|
| | | |
| | | |

- පරිමාණවාචී පද ද යෙදෙන්නේ ප්‍රථමාවෙනි.

किञ्चिद् द्रोणः आढकम्
किञ्चित् कालोपभुक्तम् ।

- අව්‍යයන් හා යෙදීමේ දී ද ප්‍රථමා ව වේ.

महासेनो नाम राजा बभूव ।

• මාතෘකා, නාම පුවරු, ග්‍රන්ථනාම, කෝෂ ග්‍රන්ථ පද ආදිය ද ප්‍රථමාවෙන් ලියනු ලැබේ.

श्री लङ्काद्वीपः।
महाकविकालिदासः
भदन्ताश्वघोषप्रणीतबुद्धचरितमहाकाव्यम्।
पुस्तकालयम्।
सर्वज्ञः सुगतो बुद्धो धर्मराजस्तथागतः

## 02. ද්විතීයා විභක්තිය (කර්මකාරකය)

කර්තෘ ස්වකීය ක්‍රියාව මගින් ඍජුව ම යම් අර්ථයක් වෙත සමීප වේ ද එය කර්මය යි.

बुद्धं नमति बालकः। चन्द्रं पश्यति बालिका।

1. උත්පාද්‍ය, 2. ආප්‍ය ය, 3. විකාර්ය, 4. සංස්කාර්ය **යනුවෙන් කර්මය සිවු ආකාර වේ.**

• කලින් නොපැවති යමක් අලුතෙන් ඇති කරයි ද එය උත්පාද්‍ය කර්ම නම් වේ.

करोति कर्षकः हलम्।

• පෙර පැවති දෙයකට අනුකූල වීම ආප්‍ය ය නම් වේ.

प्रविशति वनं सिद्धार्थः।

• යමක් පවත්නා තත්ත්වයෙන් වෙනස් තත්ත්වයකට පෙරළීම විකාර්ය නම් වේ.

तिलान् पिनष्टि माता।

• පැවති ගුණයක් ක්‍රියාවකින් වෙනස් කිරීම සංස්කාර්ය නම් වේ.

वस्त्रं क्षालयति पुरुषः।

- व्याघ्रो मृगं हन्ति।
- नारी आहारं पचति।
- नन्दो बुद्धम् अनुगच्छति।
- शिशुः दुग्धं पिबति।
- सीलानन्दः श्वेतवस्त्रं रञ्जयति।

### ක්‍රියාකාරකම 2.2

01. ඉහත වාක්‍යවල ඇති කර්මපද වෙන වෙන ම ලියන්න.
02. පහත සඳහන් වගුවේ හිස්තැන් පුරවන්න.

| විභක්තිය | ඒකවචන | ද්විවචන | බහුවචන |
|---|---|---|---|
| ද්විතීයා | मृगं | मृगौ | मृगान् |
| ................ | ................ | आहारे | आहाराणि |
| ................ | बुद्धं | बुद्धौ | ................ |
| ................ | दुग्धं | ................ | दुग्धानि |
| ................ | श्वेतवस्त्रं | ................ | ................ |

• අකථිත කර්මය ද්විතීයාවෙන් සිටී. ද්විකර්මක ධාතු යෝගයෙහි ප්‍රධාන හා අප්‍රධාන වශයෙන් කර්ම පද දෙකක් පවතී. ඉන් අප්‍රධාන කර්මය අකථිත කර්මය යි. ද්විකර්මක ධාතු දහසයක් ද ඇත.

दरिद्रः प्रभुं धनं याचते। ( प्रभुं - අප්‍රධාන කර්මය )
गां दोग्धि पयः। ( गां - අප්‍රධාන කර්මය )

### ක්‍රියාකාරකම 2.3

- गोपालो गां क्षीरं दोग्धि।
- याचको धनिकम् आहारं याचति।
- गुरुः शिष्यं प्रत्युत्तरं पृच्छति।
- सर्वज्ञः श्रावकान् धर्मं शासति।
- चोरो धनिकं भाण्डानि गृह्णाति।
- मालाकारो वृक्षं पुष्पं चिनोति।
- पिता पुत्रं गृहं नयति।

01. ඉහත වාක්‍යයන්හි ඇතුළත් ප්‍රධාන හා අප්‍රධාන කර්මපද වෙන වෙන ම ලියා දක්වන්න.
02. ද්විතීයා විභක්තියෙන් පද දෙකක් යෙදී ඇත්තේ කවර හේතුන් නිසා ද?
03. ද්විකර්මක ධාතු දහසය ලියන්න.
04. පහත වාක්‍යවල හිස්තැන්වලට සුදුසු වචන වරහන් තුළින් තෝරා හිස්තැන් පුරවන්න.

(वहति / अहं/ अमात्यः/ धनलाभं/ वृक्षम् / स्वक्षेत्रं/ गजः/ धान्यानि / अजयत् / द्विसहस्रं / सहस्रं)

०१. मार्गारक्षकः सारथिम् ............................ मूल्यं दण्डयति ।
०२. ............................ सेवकं वृक्षम् अवरुनद्धि ।
०३. श्रामणेरः............................ आम्रफलं अवचिनोति ।
०४. ............................ मित्रं सदुपदेशं ब्रवीमि ।
०५. रामः रावणं सीतां............................
०६. शत्रुः............................ जनहृदान् मथ्नाति ।
०७. वणिक्पुत्रः स्वगृहं............................ मूल्यानि नयति ।
०८. कृषीवलः............................ बीजानि हरति ।
०९. ............................ स्वशाबकान् वनं कर्षति ।
१०. अश्वः स्वस्कन्धं कुमारं............................
११. सूदाः............................यागुं पचति ।

යම් කාලයක හෝ ප්‍රදේශයක කඩවීමකින් තොර ව, ක්‍රියාවත් සමග නිතර සබඳතාව පවතින (අත්‍යන්ත සංයෝගී) කාලවාචී සහ මාර්ගවාචී ශබ්ද ද ද්විතීයා විභක්තියෙන් යෙදේ.

मासं नृत्यं अधीते । (කාලවාචී)
क्रोशं कुटिला नदी । (මාර්ගවාචී)

## ක්‍රියාකාරකම 2.4

०१. तथागतः षट्वर्षं पूर्वारामे अवसत् ।

०२. भोजः पञ्चाशत् पञ्चवर्षं राज्यमकरोत् ।

०३. मासं व्याकरणं अधीते ।

०४. बोधिसत्वः षट्वर्षं दुष्करक्रियायां अयुञ्जत् ।

०५. विष्णुशर्मः षण्मासं पञ्चतन्त्रम् अकथयत् ।

01. ඉහත වාක්‍යන්හි ඇති ද්විතීයා විභක්තිපද ලියා දක්වන්න.
02. එම වචනවල අර්ථ ලියා දක්වන්න.

- වරහන් තුළින් සුදුසු පද තෝරාගෙන පහත වාක්‍ය සම්පූර්ණ කරන්න.

( अवसत् / स्वसेवां / भोजराजः/ वर्षे एव / द्वितीयवर्षे )

०१. आचार्यः पञ्चविंशतिवर्षं.................. अकुर्वत् ।
०२. लङ्कायां.................. त्रस्त्रोपद्रवोऽभवत् ।

०३. यतीन्द्रस्थविरः त्रैमासं विहारेएव .................. ।
०४. सोमसारः द्विवर्षं.................. अपठत् ।
०५. .................. पञ्चाशत् पञ्चवर्षं गौडदेशाधिपतिः अभवत् ।

- ඇතැම් උපසර්ග සමග ද ද්විතීයා විභක්තිය යෙදේ.

०१. विहारं अभि वृक्षछायां वर्तते ।
०२. आलवकः बुद्धं परि भक्तः अभवत् ।
०३. कसीभारद्वाजः बुद्धं प्रति आह ।
०४. कृष्णः राधां अनु जीवितम् ।
०५. चित्तं चित्तं प्रति क्षमा भवतु ।

01. ඉහත වාක්‍යවල ඇති ද්විතීයා විභක්ති පද ලියා දක්වන්න.
02. එම වාක්‍යවල ඇති උපසර්ග ලියා දක්වන්න.
03. උපසර්ගය එක්වීමට පෙර හා පසු ද්විතීයා විභක්ති පදයේ අර්ථ වෙනස්වන ආකාරය පැහැදිලි කරන්න.

अभितः / परितः / उभयतः /सर्वतः / निकषा / समया / धिक् / प्रति / अनु / अन्तरेण / यावत् / हा යන නිපාත යෝගයෙහි ද්විතීයා විභක්තිය වේ.

राजानं अभितः मन्त्रिणः
ग्रामं निकषा वनम् ।
धिक् धनहीनं जीवितम् ।
दीनं प्रति दया कार्या ।

## ක්‍රියාකාරකම 2.5

०१. अभितो विहारं उपासकः तिष्ठति ।
०२. परितः संघावासं सोमसारः तिष्ठति ।
०३. सर्वतः श्रीलङ्काद्वीपं महोदधिः भवति ।
०४. उभयतो पथम् अटविं विद्यते ।
०५. समया धेनुं वत्सः तिष्ठति ।

01. ඉහත වාක්‍යවල ඇති ද්විතීයා විභක්ති පද ලියා දක්වන්න.
02. එම වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.
03. මෙම නිපාත භාවිත කරමින් අර්ථවත් වාක්‍ය නිර්මාණය කරන්න.
04. වරහන් තුළින් සුදුසු පද තෝරා පහත වාක්‍යයන්හි හිස්තැන් පුරවන්න.

(अधार्मिकम् / गुरुम् / धर्मम् / अङ्गनम् / मूर्खम्)

०१. निकषा .............................. उपासकः सम्मुखः।
०२. हा .............................. ।
०३. सः धिक् .............................. इति अवदत्।
०४. .............................. अन्तरेण कुतः शान्तिः।
०५. .............................. विना नास्ति पिता च माता।

- ප්‍රයෝජ්‍ය ක්‍රියා සමග ද ද්විතීයා විභක්තිය යෙදේ.

**बोधयति दर्शनं छात्रः**

**ක්‍රියාකාරකම 2.6**

०१. जनाधिपतिः अमात्यं देशान्तरं प्रेशयति।
०२. वैद्यः शिष्यं शयने आसयति।
०३. माता पुत्रं क्षीरान्नं भोजयति।
०४. गुत्तिलः मूषिलं वीणावादनं अवेदयत्।
०५. अङ्गुलिमालः नरान् परलोकं अप्रेषयत्।

01. ඉහත වාක්‍යවල ඇති ද්විතීයා විභක්ති පද ලියන්න.
02. මේ වාක්‍යයන්හි ඇති ප්‍රයෝජ්‍ය ක්‍රියා පද ලියා දක්වන්න.
03. ප්‍රයෝජ්‍යාර්ථවත් වාක්‍ය 05ක් තනන්න.

- පහත සඳහන් ක්‍රියාපදවලට සුදුසු ප්‍රයෝජ්‍ය ක්‍රියා වරහන් තුළින් තෝරා ලියන්න.

| | | |
|---|---|---|
| ०१. | करोति | ...................................... |
| ०२. | वाचति | ...................................... |
| ०३. | पठति | ...................................... |
| ०४. | लिखति | ...................................... |
| ०५. | वन्दति | ...................................... |

(कारयति / वन्दयति / लिख्यति / वाचयति / पाठयति)

- ක්‍රියා විශේෂණය ද්විතීයා විභක්තිය ඇසුරු කරයි. ක්‍රියා විශේෂණ නපුංසක ලිංග ද

ඒකවචන ද වේ.

मधुरं गायति बालिका ।
शीघ्रं धावति युवकः ।
मुनिः सुखं जीवति ।

මෙම වාක්‍යයන්හි හිස්තැන් පුරවන්න.

1. කර්මාර්ථයෙහි ...................... විභක්තිය වේ.
2. ද්විකර්මක ධාතූන් සමග ...................... විභක්තිය යෙදේ.
3. අත්‍යන්ත සංයෝගයෙහි ...................... විභක්තිය යෙදේ.
4. උපසර්ග යෝගයෙහි...................... විභක්තිය යෙදේ.
5. නිපාත යෝගයෙහි ...................... විභක්තිය යෙදේ.
6. ප්‍රයෝජ්‍යක්‍රියා යෝගයෙහි ...................... විභක්තිය යෙදේ.

मित्रंव्यसनसम्प्राप्तं -स्वस्थानंपरपीडितं ।
धन्यास्ते ये न पश्यन्ति - देशभङ्गंकुलक्षयं ॥

**යමෙක් විපතට පත් මිතුරා ද, සතුරන් විසින් වනසන ලද සිය ගෘහය ද, සිය දේශ විනාශය ද, සිය කුලයේ විනාශය ද නොදකී නම් ඔහු භාග්‍යවන්තයෙකි.**

## 03. තෘතීයා විභක්තිය (කරණ කාරකය)

ක්‍රියා සම්පාදනයෙහි දී කර්තෘහට අතිශයින් අනුග්‍රහ දක්වනුයේ කරණය යි. එය තෘතියා විභක්තිය ඇසුරු කරයි.

छात्रः रथेन गच्छति पाठालयम् ।
लेखन्या लिखति सा अक्षरम् ।

අභ්‍යන්තර කරණය හා බාහ්‍ය කරණය යැයි ප්‍රභේද ද්වයකි. ස්වකීය ශරීරාවයවයක් කරණය වේ නම් එය අභ්‍යන්තර කරණය යි.

पादेन गच्छति ।
चक्षुषा पश्यति ।

බාහිර කිසිවක් කරණය වේ නම් එය බාහ්‍ය කරණය යි.

असिना प्रहरति ।
चमसा खादति ।

මේ අනුව කරණකාරකයෙහි තෘතීයා විභක්තිය වේ.

**ක්‍රියාකාරකම 2.7**

०१. अहं हस्तेन पत्रमुलिखामि ।
०२. पथिकाः पादैः देशान्तरं गच्छन्ति ।
०३. ग्लानः औषधैः जीवति ।
०४. उडुपेन सागरम् तितीर्षुः अस्मि ।
०५. शुकः धान्यैः शाबकान् पोषयन्ति ।

01. ඉහත වාක්‍යවල ඇති තෘතීයා විභක්ති පද ලියන්න.
02. එම වචනවල අර්ථ ලියා දක්වන්න.
03. පහත දැක්වෙන තෘතීයා විභක්ති ඒකවචන පදවල ද්විවචන බහුවචන රූප ලියන්න.

| ඒකවචන | ද්විවචන | බහුවචන |
|---|---|---|
| चक्षुषा | ...................... | ...................... |
| कर्णेन | ...................... | ...................... |
| मुखेन | ...................... | ...................... |
| दन्तेन | ...................... | ...................... |
| अङ्गुल्या | ...................... | ...................... |

**ක්‍රියාකාරකම 2.8**

०१. मया अधुना सत्यं ज्ञातम् ।
०२. त्वया किम् अभिहितम् ।
०३. तेन ते पृष्टाः ।
०४. अनेन दुरात्मना मे दारको भक्षितः ।
०५. नापितेन सर्वः क्षपनकवृत्तान्तं तेषां निवेदितः ।

01. ඉහත වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.
02. එම වාක්‍යයන්හි ඇති තෘතීයා විභක්ති පද තෝරා ඒවායෙහි අර්ථ ද ලියන්න.
03. පහත සඳහන් ප්‍රථමා විභක්ති පද තෘතීයා විභක්තියටත් තෘතීයා විභක්ති පද ප්‍රථමා විභක්තියටත් හරවා ලියන්න.

| ප්‍රථමා | තෘතීයා | | තෘතීයා | ප්‍රථමා |
|---|---|---|---|---|
| दासः | | | सेवकेन | |
| कपिः | | | भूपतिना | |
| नरः | | | मार्जारेन | |
| लता | | | कृषीवलेन | |
| फलं | | | अरिना | |
| बुद्धः | | | मूषिकेन | |
| मुनिः | | | पुष्पेन | |
| धेनुः | | | श्रावकेन | |
| गङ्गा | | | पिता | |
| माता | | | जिह्वया | |

- सह, समं, सार्धं, सदृशः, साकं, किं, प्रयोजनं, अर्थः, යන ශබ්ද යෝගයෙහි තෘතීයා විභක්තිය වේ.

शिशुः बिडालेन सह क्रीडति।
केनाऽपि सर्धं कलहं न कुर्यात्।

०१. अहं गुरुणा सार्धं ग्रामं गच्छामि।
०२. वराहः शाबकैः सह वनगुम्बं प्रविशति।
०३. प्रज्ञया सदृशा गमः।
०४. नास्ति तृष्णासमं तोयं।
०५. किं तेन धनेन।

## ක්‍රියාකාරකම 2.9

01. ඉහත වාක්‍යවල ඇති තෘතීයා විභක්තිය හා සම්බන්ද කොටස් උපුටා පද දක්වන්න.
02. ඉහත වාක්‍යවල අර්ථ ලියන්න.
03. සහාදී නිපාත යෝගයේ තෘතීයා විභක්තිය යෙදෙන වෙනත් නිදසුන් 5ක් ලියා දක්වන්න.
04. පහත සඳහන් වාක්‍යවලට යෝග්‍ය තෘතීයා පද හා සහාදී නිපාත පද වරහන් තුළින් තෝරා අඩුතැන් පුරවන්න.

०१. राजा .................. विदेशं गच्छति।
०२. बुद्धः .................. वाराणशिं गच्छति।
०३. मे .................. देवः नास्ति।
०४. लोके .................. कश्चित् नास्ति।
०५. भवन्तः .................. क्रीडन्तु।

(गुरुना सार्धं / अस्माभिः साकं /अमात्यैः सह / बुद्धेन सदृशः/ श्रावकैः सार्धं)

- ශාරීරික විකෘතිතා දැක්වීමෙහි ද තෘතීයා විභක්තිය භාවිත වේ.

०१. सः चक्षुर्भ्याम् अन्धः।
०२. सः पादेन खञ्जः।
०३. सः हस्तेन कुणिः।
०४. सः कर्णाभ्यां बधिरः।
०५. सः वचसा मूघः।

**ක්‍රියාකාරකම 2.10**

01. ඉහත වාක්‍යවල ඇති තෘතීයා විභක්ති පද ලියන්න.
02. **अन्धः/ खञ्जः/ कुणिः/ बधिरः/ मूघः** යන වචනවල තේරුම ලියන්න.
03. ඉහත වාක්‍යවල අර්ථ ලියා දක්වන්න.
04. වරහන් තුළ ඇති වචන සුදුසු සේ යොදා පහත වාක්‍ය සම්පූර්ණ කරන්න.

०१. ते शिष्याः चक्षुर्भिः................।
०२. ते नराः सर्वदा कर्णैः................।
०३. ते वृषभाः उत्पत्त्यै ................।
०४. ते गायकाः सदैव पादैः................।
०५. ते मूधाः नित्यं वचसा ................।

(अन्धः/ मूघाः/ खञ्जः/ बधिराः/ कुणिः)

හේත්වර්ථයෙහි ද තෘතීයා ව භාවිත වේ.

०१. सत्येन कीर्तिं प्राप्णोति।
०२. यत्तेन जयं लभते।
०३. दानेन सुखं लभते।
०४. दीपेन आलोकं भवति।
०५. द्रोहेन नरकं याति।

**ක්‍රියාකාරකම 2.11**

01. ඉහත වාක්‍යවල ඇති තෘතීයා විභක්ති පද ලියා දක්වන්න.
02. එම වාක්‍යවල අර්ථ ද ලියා දක්වන්න.

03. වරහන් තුළින් සුදුසු වචන තෝරා පහත වගුව සම්පූර්ණ කරන්න.
(धर्माभ्याम् / बीजात् / उडुपैः/ अगधेन / सत्याभ्याम्)

| | | |
|---|---|---|
| सत्येन | .................... | सत्यैः |
| .................... | अगदाभ्याम् | अगधैः |
| उडुपेन | उडुपाभ्याम् | .................... |
| धर्मेन | .................... | धर्मै |
| .................... | बीजाभ्याम् | बीजै |

- ප්‍රකෘති, නාම, ගෝත්‍ර ආදි ශබ්දයන්ගේ යෝගයෙහි තෘතීයා ව වේ.

प्रकृत्या चारुः ।
नाम्ना रावणः ।
गोत्रेण गौतमः ।

- කිසියම් ලකුණක ආධාරයෙන් යමකු හඳුනා ගැනේ නම් එම ලකුණ කියැවෙන පදය තෘතීයාවෙන් තැබේ.

काषायवस्त्रेण जानामि तं बुद्धपुत्रः ।

- මිල ප්‍රකාශ කිරීමේදී අදාළ මිල ප්‍රකාශිත පදය තෘතීයාවෙන් යෙදේ.

दशरूप्यकेन क्रीतं पुस्तकमिदम् ।
सहस्रेण क्रीतं चीवरमिदम् ।

- ගමනාර්ථවත් ධාතුන්ගේ යෝගයෙහි වාහන, සාධන, දිශා යන අර්ථයන්හි තෘතීයා වේ.

सर्वं त्यक्त्वा अनेन मार्गेण गन्तव्यम् ।

- ලෙස යන අර්ථය මතු කෙරෙන පදය තෘතීයාව ඇසුරු කරයි.

शिष्यं पुत्रेण पश्यति ।
चिन्तयति मात्रा परदारम् ।

හිස්තැන් පුරවමු.

01. කර්තෘ කාරකයෙහි .................. විභක්තිය වේ.
02. කරණාර්ථයෙහි .................. විභක්තිය වේ.
03. සහාදී යෝගයෙහි .................. විභක්තිය වේ.
04. අඞ්ගවිකාරාර්ථයෙහි.................. විභක්තිය වේ.
05. හේතු අර්ථයෙහි.................. විභක්තිය වේ.
06. ඉත්ථම්භූතාර්ථයෙහි .................. විභක්තිය වේ.

आकारैरिङ्गितैर्गत्या - चेष्टयाभाषणेन च।
नेत्रवक्त्रविकारैश्च - लक्षतेन्तर्गतंमनः॥

හැසිරීමෙන්, ඉඟිවලින්, ගමනින්, සිනහවෙන්, කථාවෙන්, නෙත්වල හා මුහුණේ වෙනස්කම්වලින් ඇතුල් සිත දක්නා ලැබේ.

## 04. චතුර්ථී විභක්තිය (සම්ප්‍රදාන කාරකය)

යමෙක් යමකුට මැනවින් යම් දෙයක් දෙනු ලැබේ ද, එම දීම පිළිගනු ලබන්නා සම්ප්‍රදාන යයි කියනු ලැබේ. (යස්මෙ දීයතෙ ස සම්ප්‍රදානම්) සම්ප්‍රදාන අර්ථයෙහි චතුර්ථී විභක්තිය යෙදේ.

पुत्राय क्षीरं ददाति।
पुरुषः मोक्षाय यतते।
दरिद्राय धनं ददाति।

සම්ප්‍රදාන තෙවැදෑරුම් වේ. ඒ ප්‍රේරක, අනුමන්තෘ හා අනිරාකර්තෘ වශයෙනි.

01. ප්‍රේරක - යමක් මට දෙවයි ඉල්ලා එය ලබන්නා යි.
यच्छति माता तापसाय भिक्षाम्।
02. අනුමන්තෘ - දීම අනුමත කරන්නා යි.
छात्रः उपाध्याय रथं वितरति।
03. අනිරාකර්තෘ - පිළිගැනීම හෝ ප්‍රතික්ෂේප කිරීම නොකරන්නා යි.

गोपी कृष्णाय श्लाघते।

**ක්‍රියාකාරකම 2.12**

०१. याचकाय आहारं ददाति।
०२. नृपः सेवकेभ्यः त्यागानि ददाति।
०३. वृक्षाय जलं ददाति।
०४. उपासकः भिक्षवे आहारं ददाति।
०५. कृषीवलः धेनवे औषधं ददाति।

01. ඉහත වාක්‍යවල ඇති චතුර්ථී විභක්ති පද ලියා දක්වන්න.
02. එම වාක්‍යවල අර්ථ ලියා දක්වන්න.
03. පහත වගුවේ ඇති ඒකවචන පද වලට නියමිත ද්විවචන හා බහුවචන ලියන්න.

| | | | |
|---|---|---|---|
| १. | मुनेः | ..................................... | ..................................... |
| २. | देवाय | ..................................... | ..................................... |
| ३. | राज्ञे | ..................................... | ..................................... |
| ४. | वध्वै | ..................................... | ..................................... |
| ५. | नद्यै | ..................................... | ..................................... |

**नमः** , **स्वस्ति** , **ස්වධා**, **අලම්**, **ස්වාහා** වෂට් යන නිපාතයන් හා **හිත** ශබ්දය සමග යෙදෙන්නේ ද චතුර්ථී විභක්තිය යි.

मातृ-पितृभ्यां नमः ।
प्रजाभ्यः स्वस्ति ।
राज्ञाय स्वधा ।
सर्वज्ञाय स्वाहा ।

**ක්‍රියාකාරකම 2.13**

०१. नमः समन्तभद्राय ।
०२. स्वस्ति ते होतु सर्वदा ।
०३. अलं सीता रामाय ।
०४. इन्द्राय स्वाहा ।
०५. देवाय स्वधा ।

01. ඉහත සදහන් වාක්‍යවල ඇති චතුර්ථී විභක්ති පද වෙන්කර දක්වන්න.
02. ඉහත වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.
03. **නමඃ, ස්වස්ති, ස්වධා, අලම්, හිතම්, ස්වාහා** ආදී පද කෙබඳු අර්ථ ප්‍රකාශ කරන්නේදැයි වෙන වෙන ම ලියන්න.
04. පහත ඇති වාක්‍යවලට සුදුසු වචන වරහන් තුළින් තෝරා හිස්තැන් පුරවන්න.

०१. ते पन्थानः ........................... सन्तु ।
०२. क्षपणकाय........................... ।
०३. जिनः........................... ।
०४. कृष्णे देवी ........................ तुभ्यः ।
०५. सदा........................... भवन्तु ।

(नमो/ शिवाः/ नमोस्तु / नमो / स्वस्ति)

- රුචි කිරීම්, කැමති වීම් අර්ථය ඇති ධාතුන්ගෙන් සෑදුන ක්‍රියා ඇති වාක්‍යයක එම සන්තෝෂය ලබන්නා චතුර්ථී විභක්තියෙන් යෙදේ.

बालकेभ्यः रोचते मोदकम्।
तस्मै रोचते मोक्षम्।

- ක්‍රෝධ, ද්‍රෝහ, ඊර්ෂ්‍යාදියට ලක්වන්නා ද චතුර්ථී විභක්තියෙන් යෙදේ.

मित्राय क्रुध्यति, द्रुह्यति, ईर्ष्यति, ।
कवये असूयति।

**ක්‍රියාකාරකම 2.14**

०१. गिलानाय औषधं रोचते ।
०२. पुण्यवन्तेभ्यः उपदेशं हितम्।
०३. दुर्वाशाऋषिः शाकुन्तलायै शपते।
०४. देवदत्तः बुद्धाय ईर्ष्यति।
०५. मूर्वः पुण्यवन्तेभ्यः क्रुध्यति।

01. ඉහත වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.
02. ඉහත සඳහන් වාක්‍යවල ඇති චතුර්ථී විභක්ති පද ලියන්න.
03. පහත දී ඇති වාක්‍යවල හිස්තැනට සුදුසු රෝචනාර්ථ, ද්‍රෝහාර්ථ, වරහන තුළ ඇති වචනවලින් තෝරා හිස්තැන් පුරවන්න.

**ක්‍රියාකාරකම 2.15**

०१. श्रमणाय सत्यं.................. ।
०२. धनिकाय कृपणः.................. ।
०३. यौवनाय वृद्धः.................. ।
०४. परमेश्वरः मकरध्वजाय .................. ।
०५. सत्यवादिः वञ्चकाय .................. ।
(द्रुह्यति / रोचते / ईर्ष्यति/ क्रुध्यति / शपते)

ක්‍රියාව යම් ප්‍රයෝජනයක් උදෙසා පවතී ද එම ප්‍රයෝජන දැක්වෙන පදය (තාදර්ථ්‍යයෙහි) චතුර්ථී විභක්තිය ඇසුරු කරයි.

निर्वाणाय धर्मं धत्ते।
संयमाय ज्ञानं धत्ते।

**ක්‍රියාකාරකම 2.16**

०१. मम प्रयत्नं राज्याभ्युदयै ।
०२. बुद्धः मोक्षाय धर्मं अदेशयत् ।
०३. संयमाय श्रुतं धत्ते ।
०४. प्रजायै गृहमेधिनाम् ।
०५. सत्याय मितभाषिणाम् ।

01. ඉහත වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.
02. ඉහත සඳහන් වාක්‍යවල ඇති චතුර්ථී විභක්ති පද තෝරන්න.
03. පහත වාක්‍යවල හිස්තැන්වලට සුදුසු වචන වරහන් තුළින් තෝරා ලියන්න.

०१. .................. श्रुतं धत्ते ।
०२. .................. फलन्ति वृक्षाः ।
०३. .................. सम्भृततानाम् ।
०४. .................. सद्धर्मं भवति ।
०५. .................. पापं वर्तते ।

(विनाशाय / मोक्षाय/ त्यागाय / परोपकाराय / संयमाय)

ණය හිමි පුද්ගලයා ද පැවසෙනුයේ චතුර්ථී විභක්තියෙනි.

कृष्णाय सहस्रं धारयति राधा ।

ක්‍රියාවේ අර්ථය යමකුගේ ඵලය පිණිස පවතී ද එකී ඵලය ලබන්නා චතුර්ථී විභක්තියෙන් කියැවේ.

माता जीवति पुत्राय ।
गुरुः छात्राय श्राम्यति ।

**ක්‍රියාකාරකම 2.16**

01. පහත පද්‍යයන්ගෙන් අර්ථවත් වාක්‍ය නිර්මාණය කරන්න. ඒවායෙහි තේරුම් ද ලියන්න.

दरिद्रेभ्यो धनं देहि ज्ञानायाऽव्ययनं कुरु ।
नमः श्रीरघुनाथाय स्वस्ति तुभ्यं महीपते ॥
स्वाहाऽग्नये स्वधा पित्रे रोगिणे हितमौषधम् ।
शिशवे रोचते क्रीडा नृपः क्रुध्यति दस्यवे ॥

02. හිස්තැන් පුරවන්න.

01. සම්ප්‍රදාන අර්ථයෙහි .................. විභක්තිය ගනී.
02. ආශිර්වාද, ගෞරවාදිය ලබන්නා .................. විභක්තිය ගනී.
03. ක්‍රෝධයට, ද්‍රෝහාදියට ලක්වන්නා .................. විභක්තිය ගනී.
04. තාදර්ථ්‍යයෙහි .................. චතුර්ථී විභක්තිය වේ.

त्यागायसम्भृतार्थानाम् - सत्यायमितभाषिणाम्।
यशशेविजिगीशूनां - प्रजायैगृहमेधिनाम्॥

**දීම පිණිස රැස් කරන ලද ධනය ඇති, සත්‍යය සඳහා ටිකක්**
**කථා කරන සුලු වූ, කීර්තිය සඳහා සතුරන් දිනනු කැමති, පරම්පරාව**
**සඳහා දාර පරිග්‍රහණය කරන සුලු වූ**

दुर्जनः परिहर्तव्यो विद्ययाऽलङ्कृतोऽपि सन्।
**දුදනා ශාස්ත්‍රඥානයෙන් බැබළුණේ නමුත් දුරුකළ යුතු ය.**

दोषग्राही गुणत्यागी पल्लोलीव हि दुर्जनः।
**දුර්ජනයා පෙනේරය මෙන් ගුණ හැර වැරදි දේ පමණක් ගනියි.**

नाल्पीयान्बहु सुकृतं हिनस्ति दोषः।
**කරන ලද බොහෝ පින් අල්ප වූ වැරදි යටපත් කරයි.**

०३ तृतीयः पाठः ।

# ऋते ज्ञानात् न मुक्तिः ।

## कारकपरिचयः । ०२

### 05. පඤ්චමී විභක්තිය (අපාදාන කාරකය)

යමකින්/යමකු කෙරෙන් යම් දෙයක් හෝ යමෙක් ඉවත් වනු ලැබේ ද එම ඉවත්වීමේ සීමාව අපාදාන නම් වේ. එය යෙදෙන්නේ පඤ්චමී විභක්තියෙනි.

**ක්‍රියාකාරකම 3.1**

०१. कृषिकः क्षेत्रात् आगच्छति ।
०२. पर्वतात् सञ्चारकः पतति ।
०३. अर्चकः मन्दिरात् निर्गच्छति ।
०४. शरीरात् स्वेदं पतति ।
०५. मुखात् दन्तं पतति ।

01. ඉහත වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.
02. ඉහත සඳහන් වාක්‍යවල ඇති පඤ්චමී විභක්ති පද ලියන්න.
03. පහත දැක්වෙන ප්‍රථමා විභක්ති පදවලට අදාළ පඤ්චමී විභක්ති වචන තෝරා ලියන්න.

| ප්‍රථමා | පඤ්චමී |
|---|---|
| नरः | |
| शिष्यौ | |
| वृक्षः | |
| हस्ताः | |
| धेनुः | |

(शिष्याभ्याम् / नरात् / वृक्षात् / धेनोः / हस्तेभ्यः)

पर , इतर , आरात् , विना , ऋते , प्रत्यक् , प्राग्

ආදී කාල වාචී හා දිශා වාචී ශබ්ද යෝගයෙහි පඤ්චමී විභක්තිය යෙදේ.

तृष्णात् अन्यः । आरात् वनात् ।
ऋते ज्ञानात् न मुक्तिः । नगरात् पूर्वः

## ක්‍රියාකාරකම 3.2

०१. आरात् वनात् विहारं अस्ति ।

०२. अन्यो प्रासादात् चैत्यम् ।

०३. इतरो ग्रमात् नगरं ।

०४. पूर्वो नगरात् आरोग्यशाला ।

०५. प्राक् त्वत् अहम् तिष्ठामि ।

01. ඉහත වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.

02. මෙම වාක්‍යවල ඇති පඤ්චමී විභක්ති පද ලියා දක්වන්න.

03. ආරාත්, අන්‍යො, ඉතරො, පූර්වො, ප්‍රාක් යන අව්‍ය හා දිශා වාචී ශබ්දවලින් ලබාදෙන අර්ථ මොනවාදැයි ලියන්න.

- ප්‍රභවාර්ථයෙහි පඤ්චමී විභක්තිය ගනී.

प्रभवति नदी जलमूलात् ।
बीजात् अङ्कुरः जायते ।

## ක්‍රියාකාරකම 3.3

०१. लोभात् क्रोधः प्रभवति ।

०२. मोहात् पापं जनयति । ।

०३. उद्योगात् जयं लभते ।

०४. विनयात् पात्रतां याति ।

०५. धनात् धर्मं च सुखं च लभते ।

01. ඉහත සඳහන් වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.

02. මෙහි සඳහන් පඤ්චමී විභක්ති පද ලියන්න.

03. පහත සඳහන් වචන යොදා වාක්‍ය නිර්මාණය කරන්න.

०१. पापात् ................. .................

०२. पुण्यात् ................. .................

०३. ज्ञानात् ................. .................

०४. कृपणात् ................. .................

०५. स्नेहात् ................. .................

• මර්‍යාදා (සීමා), අභිවිධි (ව්‍යාප්ති) අර්ථයන්හි යෙදෙන ආ ශබ්දය සමග පඤ්චමී විභක්තිය භාවිත වේ.

आ निर्वाणात् बुद्धं भज ।

आ वनात् सा रुरोद ।

**ක්‍රියාකාරකම 3.4**

०१. आजन्मनः कुतः सुखम् ।

०२. आसमुद्रात् उर्वी भवति ।

०३. आमरणात् दुःखमेव विन्दति ।

०४. आवनात् देवः अवर्षत् ।

०५. आवृद्धत्वात् यौवनत्वं भजति ।

01. ඉහත සඳහන් වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.

02. මෙහි ඇති පඤ්චමී විභක්ති පද ලියා දක්වන්න.

03. පහත වාක්‍යවලට සුදුසු පඤ්චමී විභක්ති පද තෝරා ලියන්න.

०१. ..................वनं वर्तते ।

०२. .................. बालकालः भवति ।

०३. .................. पूर्वाह्णम् भवति ।

०४. .................. प्राकारः अस्ति ।

०५. ..................पथं वर्तते ।

(आसमुद्रात् / आपथः / आसायाह्णात् / आयौवनात् / आग्रमात् )

• යමකින්, යමකුගෙන් බියක්, තැතිගැනීමක් ඇති වේ නම් එසේ බියට හේතුවන්නා පඤ්චමී විභක්තියෙන් තැබේ.

चोराद् बिभेति बालकः।

**ක්‍රියාකාරකම 3.5**

०१. मार्जारात् मूषिकः त्रस्यति।

०२. कालात् जन्तवः बिभेति।

०३. सर्पात् भेकः भायति।

०४. दारकः गजात् अभायत्।

०५. पिङ्गलकः संजीवकस्य शब्दात् अत्रस्यत्।

01. ඉහත සඳහන් වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.

02. එම වාක්‍යවල ඇති පඤ්චමී විභක්ති වචන ලියන්න.

03. පහත වාක්‍යවල ඇති හිස්තැනට සුදුසු වචනය තෝරා හිස්තැන් පුරවන්න.

०१. ..................सज्जनाः भायन्ति।

०२. .................. धनिकः भायिष्यति।

०३. .................. चोरः त्रस्यति।

०४. .................. शिष्यः अभायत्।

०५. .................. गोमायु श्रुगालः अभायत्।

(आरक्षकात् / असज्जनेभ्यः/ चोरात् / आचार्यात् / दुन्दुभेः)

• හේත්වර්ථයෙහි පඤ්චමී විභක්තිය වේ.

कस्मात् कारणात् कुपितः।

पुण्यात् दृष्टः माता।

පහත වාක්‍යවල හිස්තැන් පුරවන්න.

01. යමකින් යමක් ඉවත්වේ ද එහි පූර්ව සම්බන්ධය පැවති පුද්ගලයා හෝ වස්තුව අදාළ වන වචනය ............... විභක්තිය ගනී.
02. ඇතැම් අව්‍යපද සමගත් දිශාවාචී ශබ්ද සමගත් යෙදෙන පද ............... විභක්තිය ගනී.
03. යමකින් යමක් උපදී නම් පෙර සම්බන්ධ පැවති පදය ............... විභක්තිය ගනී.
04. සීමාර්ථය ප්‍රකාශ කරන ආ ප්‍රත්‍යය සහිත වචන ද ............... විභක්තිය ගනී.
05. යමකින් බිය සන්ත්‍රාස ගෙන දේ නම් ඊට මූලික වන වචන .................. විභක්තිය ගනී.

विद्या ददाति विनयं
विनयाद्याति पात्रताम्।
पात्रत्वाद्धन माप्णोति
धनाद्धर्मं ततः सुखम्॥

විද්‍යාව හික්මීම දෙයි. හික්මීමෙන් ගෞරවයට පාත්‍රවේ. ගෞරවයට පාත්‍රවීමෙන් ධනය ලබයි. ධනය ලැබීමෙන් ධර්මය ද සැපය ද ලබයි.

### 06. ෂෂ්ඨී විභක්තිය

විශේෂ්‍ය විශේෂණ වශයෙන් සිටි පද දෙකක සංයෝගයෙන් අයිතිය හෙවත් සම්බන්ධය (ස්වාම්‍යර්ථය) ප්‍රකට කෙරෙන්නේ ෂෂ්ඨී විභක්තියෙනි.

चन्द्रस्य किरणः रमणीयः।
रावणस्य पत्नी मन्दोदरी इति।

**ක්‍රියාකාරකම 3.6**

०१. राहुलस्य पुस्तकमिदम्।
०२. वीरस्य औदार्यम् उत्तमम्।
०३. सिरिपालस्य गृहं महन्तम्।
०४. भूपतेः सेना गच्छति।
०५. तस्य भार्या सुतं असूत।

01. ඉහත සඳහන් වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.

02. එම වාක්‍යවල ඇති ෂෂ්ඨී විභක්ති පද වෙන වෙන ම ලියන්න.

03. මෙහි ඇති ෂෂ්ඨී විභක්ති පදවල අර්ථයන්හි ඇති පොදු ලක්ෂණය කුමක්ද?

04. පහත දැක්වෙන ප්‍රථමා විභක්ති පදවලට අදාල ෂෂ්ඨී විභක්ති පද තෝරා යා කරන්න.

| | |
|---|---|
| ०१. नरः | धेन्वोः |
| ०२. गुरुः | गङ्गायाः |
| ०३. नौः | कर्तुः |
| ०४. धेनुः | हरेः |
| ०५. वधुः | गुरोः |
| ०६. गङ्गा | पत्युः |
| ०७. कर्ता | नरस्य |
| ०८. पिता | नावः |
| ०९. पतिः | वध्वाः |
| १० हरिः | पितुः |

- ජාති, ගුණ, ක්‍රියා, ද්‍රව්‍ය වාචක සමූහයකින් එකක් වෙන්කර ගැනීමක දී (නිර්ධාරණාර්ථයෙහි) සමූහය අදාළ වන වචනය ෂෂ්ඨී විභක්තිය වේ.

व्याकरग्रन्थानामष्टध्यायी श्रेष्ठा ।
श्रेष्ठः शक्रः देवानाम् ।

**ක්‍රියාකාරකම 3.7**

०१. तयोः एकस्य हस्तात् मूल्यं अपतत् ।

०२. तेषाम् एकः मूर्खः ।

०३. तेषाम् एकः अन्धः ।

०४. तेषां त्रयः शास्त्रपारंगताः ।

०५. कवीनां कालिदासः प्रमुखः ।

01. ඉහත සඳහන් වාක්‍ය සිංහලට පර්වර්තනය කරන්න.

02. මෙහි ඇති ෂෂ්ඨී විභක්ති පද වෙන වෙන ම ලියන්න.

03. මෙහි ෂෂ්ඨී විභක්ති වචනාර්ථවල දැකිය හැකි විශේෂ ලක්ෂණය කුමක්ද?

04. පහත වාක්‍යවලට සුදුසු වචන තෝරා හිස්තැන් පුරවන්න.

०१. ..................भिक्षूणां प्रमुखः शारिपुत्रस्थविरः।

०२. .................. रम्यं नाटकं शाकुन्तला।

०३. .................. प्रमुखः ज्योतिपालः।

०४. .................. प्रधानः स्वर्णमाली चैत्यम्।

०५. .................. कसीभारद्वाजः प्रधानः।

(कृषीवलानां / धर्मकथिकानां/ चैत्यानाम्/ नाटकानां/ गायकानां)

අකමැත්ත, අනාදරය ප්‍රකාශ කිරීමේදී ද ඊට බඳුන් වන්නා ෂෂ්ඨී විභක්තියෙන් වේ.

अगच्छत् स वनं रुदतोः मतापित्रोः।

## ක්‍රියාකාරකම 3.8

०१. पृथग्जनानां भिक्षूनां रुदतां सम्यग्सम्बुद्धः परिनिर्वाणमगच्छत्।

०२. आचार्यस्य वारितस्य शिष्यः गृहं गतः।

०३. कुमारदासस्य अनिच्छन्तस्य कालिदासः दिवं गतः।

०४. दारकस्य दुःखितस्य माता पञ्चत्वं गतः।

०५. मातापित्रोः निवारितयोः पुत्रः विदेशं गतः।

01. ඉහත සඳහන් වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.

02. ඉහත වාක්‍යවල ඇති ෂෂ්ඨී විභක්ති පද වෙන වෙන ම ලියන්න.

03. පහත වාක්‍යවලට සුදුසු ෂෂ්ඨී විභක්ති පද වරහන් තුළින් තෝරා හිස්තැන් පුරවන්න.

०१. ..................अप्रसादस्य श्रामणेरः अधावत्।

०२. .................. निवारितस्य दमनकः पिङ्गलक समीपं अगच्छत्।

०३. .................. अप्रसन्नास्याः रावणः अपहरत्।

०४. .................. अनिच्छन्तस्य अवीचिं गतः।

०५. .................. रुदतः सिद्धार्थः अभिनिष्क्रमत्।

(करटकस्य / गुरोः/ देवदत्तस्य / सीतायाः/ यशोधरायाः)

दूर, अन्तिक, निकट, हेतु යන ශබ්ද සමග යෙදෙන නාමය ෂෂ්ඨී විභක්තිය ගනී.

ग्रामस्य दूरम्।

नगरस्य अन्तिकम्।

## ක්‍රියාකාරකම 3.9

०१. नगरस्य दूरात् वनं अस्ति।

०२. ग्रामस्य अन्तिके वापिं अस्ति।

०३. विहारस्य निकटम् गृहं अस्ति।

०४. औषधस्य हेतोः जीवति।

०५. आहारस्य हेतोः भिक्षति।

01. ඉහත සඳහන් වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.

02. ඉහත වාක්‍යයන්හි ඇති ෂෂ්ඨී විභක්ති පද වෙන වෙන ම ලියන්න.

03. පහත වාක්‍යවලට සුදුසු වචනවල අංක නිවැරදි ව ගළපා වාක්‍ය සකසන්න.

| | | | |
|---|---|---|---|
| १. | गृहस्य .................. महावृक्षम् अस्ति। | १ | समन्तकूटपर्वतस्य |
| २. | परिवेणस्य .................. पाठालयम् अस्ति। | २ | गिलानस्य |
| ३. | कोलम्बनगरस्य..................अनुराधपुरनगरम् अस्ति। | ३ | समीपे |
| ४. | अविद्या .................. संस्काराः भवन्ति। | ४ | निकटम् |
| ५. | कूपस्य .................. कृष्णसर्पः तिष्ठति। | ५ | दूरात् |
| ६. | .................. दूरात् कल्याणिपुरं भवति। | ६ | हेतोः |
| ७. | .................. निकटम् वैद्यः तिष्ठति। | ७ | अन्तिके |
| ८ | .................. हेतोः नामरूपं भवति। | ८ | विज्ञानस्य |

• තව්‍ය අනීය ප්‍රත්‍යාන්ත ශබ්දයන්ගේ යෝගයෙහි තෘතීයා හා ෂෂ්ඨී විභක්ති වේ.

धनं कस्य देयम्।
इदं मम करणीयम्।

**ක්‍රියාකාරකම 3.10**

०१. अस्माकं कर्तव्यं कार्याणि।

०२. शिष्यानां पठितव्यं पुस्तकम्।

०३. कृषीवलस्य कर्तव्यं क्षेत्रम्।

०४. सर्वस्य गमणीयं लोकम्।

०५. शिष्यानां वाचणीयं पाठानि।

01. ඉහත සඳහන් වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.
02. ඉහත වාක්‍යවල ඇති ෂෂ්ඨී විභක්ති පද ලියා දක්වන්න. එම වචන කවර අර්ථවල යෙදී ඇත් දැයි ලියා දක්වන්න.
03. පහත වාක්‍යවලට සුදුසු ෂෂ්ඨී විභක්ති පද යොදා හිස්තැන් පුරවන්න.

०१. ..................जित इन्द्रियानि।

०२. .................. कृत कृत्यानि।

०३. .................. ऊढ भारं।

०४. .................. म्लान माला।

०५. .................. भग्न भारं।

(वृषभस्य/ वृक्षस्य / संजीवकस्य / बुद्धस्य / अरहन्तस्य)

• අධිපති, ඊශ්වර, ස්වාමී, යන ශබ්දයන් හා යෙදෙන නාම පදය ෂෂ්ඨී විභක්තිය ගනී.

शिष्यानां नायकः सिद्धार्थः।

## ක්‍රියාකාරකම 3.11

०१. धर्मस्य स्वामी भगवान् बुद्धः।

०२. नरानां अधिपतिः नरेन्द्रः।

०३. कवीनां ईश्वरः कवीन्द्रः।

०४. गजानां स्वामी गजनायकः।

०५. व्यापारस्य अधिपतिः व्यापारिकः।

01. ඉහත සඳහන් වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.

02. ඉහත වාක්‍යවල ඇති ෂෂ්ඨී විභක්ති පද ලියා දක්වන්න.

03. එම වචන ෂෂ්ඨී විභක්තියෙන් ලිවීමට විශේෂ හේතුව කුමක්ද?

04. පහත වාක්‍යවලට සුදුසු ෂෂ්ඨී විභක්ති පද තෝරා හිස්තැන් පුරවන්න.

०१. ..................अधिपतिः जनाधिपः।

०२. देवानां.................. शक्रः।

०३. .................. स्वामी सार्थवाहकः।

०४. गवाम् स्वामी ..................

०५. ..................ईश्वरः कुवेरः।

रामेस्य व्रजनं बलेर्नियमनं पाण्डोः सुतानां वनं<br>
वृष्णीनां निधनं नलस्य नृपतेर्राज्यात् परिभ्रंशनम्।<br>
सौदासं तदवस्थमर्ज्रनवधं संचिन्त्य लङ्केश्वरं<br>
दृष्ट्वा राज्यकृते विडम्बन गतं तस्मान्न त द्वांजयेत्

රාමගේ රටින් පිටුවහල් කිරීම ද, බලිහුගේ බන්ධනය ද, පාණ්ඩුපුත්‍රයන්ගේ වන වාසය ද, යාදවයන්ගේ මරණය ද, නලරජුගෙන් රාජ්‍යගිලිහීම, ලංකේශ්වර රාවණගේ මරණයට සිරගෙයි ලැගීම ද, (බලන කල්හි) සියල්ලෝ කාලයාගේ ඇවෑමෙන් මියයති. කවරෙක් නම් ආරක්‍ෂා වන්නේ ද ?

## 07. සප්තමී විභක්තිය (අධිකරණ කාරකය)

ක්‍රියාවට ආධාර වනුයේ අධිකරණය යි. එහි සප්තමී විභක්තිය වේ. මෙය ඖපශ්ලේෂික, සාමීපික, අභිව්‍යාපක, වෛෂයික, නෛමිත්තික, ඖපචාරික වශයෙන් සය වැදෑරුම් වේ.

शयति शयने राधा। - ඖපශ්ලේෂික
तिष्ठति व्यालः वाल्मीके। - සාමීපික,
निम्बेषु विद्यते तिक्तम्। - අභිව්‍යාපක,
हृदि वसति बुद्धः। - වෛෂයික,
अधीते छात्रः विभागे। - ඖපචාරික,
अङ्गुल्यग्रे वसन्ति करिणः। - ඖපශ්ලේෂික

- ක්‍රියාව යමක් මත රඳා පවතී ද එම පදය (ආධාර්ථයෙහි) සප්තමී විභක්තියේ යෙදේ.

विहगाः **नीडे** वसन्ति।

**ක්‍රියාකාරකම 3.12**

०१. वानराः वृक्षेषु निवसन्ति।

०२. अम्बरे विहगाः चलन्ति।

०३. मधु तिष्ठति जिह्वग्रे।

०४. हृदि हलाहलं विषम् भवति।

०५. राजा सिंहासने तिष्ठति।

01. ඉහත වාක්‍යයන් සිංහලට පරිවර්තනය කරන්න.
02. එම වාක්‍යවල ඇති සප්තමී විභක්තිපද වෙන වෙන ම ලියා අර්ථ දක්වන්න.
03. පහත වාක්‍යවල හිස්තැන්වලට සුදුසු වචන තෝරා ලියන්න.

०१. .................. बुद्धः तिष्ठति।

०२. .................. भिक्षवः वसन्ति।

०३. .................. कृषीवलाः बीजानि वपन्ति।

०४. .................. उपासकाः वसन्ति ।

०५ .................. पञ्च अङ्गुल्यानि भवन्ति ।

(विहाराङ्गने / क्षेत्रे / विहारे / परिवेणे / हस्ते)

- සමූහයකින් එකක් තෝරාගැනීමේ දී සමූහාර්ථ පදය (නිර්ධාරණාර්ථයෙහි) සප්තමී විභක්තිය භාවිත වේ.

पादपेषु वटः वनस्पतिः ।

**ක්‍රියාකාරකම 3.13**

०१. आर्य्यश्रावकेषु मौद्गल्यायनस्थविरः ऋद्धिप्रातिहार्य्ये अग्रः भवति ।

०२. सर्वभाषाषु संस्कृतभाषा अतिश्रेष्ठ भाषा भवति ।

०३. काव्येषु नाटकं रम्यं भवति ।

०४. नाटकेषु सकुन्तला मनोज्ञं भवति ।

०५. अध्यापनेषु परिवेणाध्यापनं विषिष्ठाध्यापनं भवति ।

01. ඉහත සඳහන් වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.

02. ඉහත සඳහන් වාක්‍යවල සප්තමී විභක්ති පද ලියා ඒවායෙහි අර්ථ ලියන්න.

03. පහත සඳහන් වචනවලින් වාක්‍යවල හිස්තැනට සුදුසු වචනය තෝරා ලියන්න.

| | |
|---|---|
| १. सर्व .................. विद्या उत्तमं द्रव्यं भवति । | १. आचार्येषु |
| २. .................. सोमानन्दभिक्षुः संस्कृतभाषाकथने पाठवः । | २. मृगेषु |
| ३. सर्व .................. गजः कायेन अति स्थूलः जन्तुः । | ३. छात्रेषु |
| ४. .................. कालिदास महाकविः अद्वितीयः । | ४. द्रव्येषु |
| ५ .................. गुत्तिलः सुप्रकटः आचार्यः । | ५. कवीषु |

• අකමැත්තක්, අප්‍රසාදයක් හැඟවෙද්දී ඊට ලක් වන්නා (අනාදරාර්ථයෙහි) සප්තමී විභක්තිය වේ.

प्रहरति चोरः धनिके विलपति ।

**ක්‍රියාකාරකම 3.14**

०१. देवेषु रुदत्सु कौलिकः वृक्षमछिन्दत्।

०२. मातरि रुदति दारकः विदेशं गतः।

०३. पृथग्जनभिक्षुषु रुदत्सु बुद्धः परिनिर्वाणम् अगमत्।

०४. मयि अनिच्छन्ते आचार्यः विहारात् अगमत्।

०५. प्रेमवती वारिते प्रेमवन्तः विषम् अपिबत्।

01. ඉහත වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.

02. ඉහත වාක්‍යවල ඇති සප්තමී විභක්ති පද ලියා දක්වා ඒවායේ තේරුම් ලියන්න.

03. පහත සඳහන් පද යොදාගනිමින් නිවැරදි වාක්‍ය සකසන්න.

०१. कृतोऽपि / पुत्रः / अकुर्वत् / सुरापानं / पितरि / दोषारोपणं

०२. अधावत् / निवारयति / अजातशत्रुकुमारः / पित्रं / मातरि

०३. बुद्धं / अन्वगच्छत् / नन्दः / अनिच्छति / सुन्दरी

०४. सहस्रबुद्धिः / एकबुद्धेः / उपदिशति / न प्रतिगृह्णाति

०५. अवर्षत् / कृषीवलेषु / देवः / अनिच्छन्तेषु

• කාලාර්ථයක් හැඟවෙන කල්හි ප්‍රසිද්ධ ක්‍රියාවත්, ඉන් කියවෙන නාමයත් (භාවාර්ථයෙහි) සප්තමී විභක්තිය ගනී.

उदयति सूर्ये लिखामि गीतम्।

## ක්‍රියාකාරකම 3.15

०१. अथ तस्यां गतायांब्राह्मणोऽपि गृहात् निर्गतः।

०२. तेषु गतेषु मण्डूकः आह।

०३. वेश्मनि सर्वतः दह्यमाने सः शयीत।

०४. अजितात्मन् मयि प्रव्रजिते ते संविद् न अस्ति।

०५. मृत्यौ पशहस्ते तिष्ठति प्रमाद्यात् शोच्यः।

01. ඉහත වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.

02. මෙහි ඇති සප්තමී විභක්ති පද ලියා තේරුම් ලියන්න.

03. පහත වාක්‍යවල හිස්තැන්වලට සුදුසු පද තෝරා ලියන්න.

०१. गुरौ .................. शिष्यः बहिर्गतः।

०२. मातरि .................. पुत्रः गृहात् निर्गतः।

०३. बुद्धे परिनिर्वाणं .................. पृथिवि कम्पनं अभवत्।

०४. अस्मासु .................. वानरः आगतः।

०५. नन्दः .................. सुन्दरी अरुदत्।

(उपदिशति / सुप्ते / मृते / हसति / गच्छति)

- කර්මය සමග යෙදී ඇති නිමිත්ත පැවසෙන නාමය ද (නිමිත්තාර්ථයෙහි) සප්තමී විභක්තිය ගනී.

छिनत्ति वृक्षं दारुषु।

## ක්‍රියාකාරකම 3.16

०१. सूदाः काष्ठेषु वृक्षं छिन्दति।

०२. चोराः दन्तयोः हस्तिं हन्ति।

०३. व्याधः विशानेषु मृगान् नश्यति।

०४. अङ्गुलिमालः अङ्गुल्येषु नरान् मारितवान्।

०५. कर्मखराः रत्नेषु भूमिं खनन्ति।

01. ඉහත වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.

02. මෙම වාක්‍යවල ඇති සප්තමී විභක්ති පද ලියා ඒ වචනවල අර්ථය දක්වන්න.

03. පහත සඳහන් වාක්‍යවල හිස්තැනට වඩාත් නිවැරදි වචනය තෝරා ලියන්න.

०१. श्रामणेरः.................. श्वेतवस्त्रं रञ्जयति।

०२. सर्वे सत्वाः.................. आहारं अनुभवन्ति।

०३. किरातः.................. व्याघ्रं हन्ति।

०४. कृषीवलाः..................बीजानि वपन्ति ।

०५. नराः.................. वनानि विनश्यति।

( चर्मणि / जीवितेषु / काष्टेषु / चीवरेषु / धान्येषु )

- ස්වාමී, ඊශ්වර, අධිපති ආදී ශබ්දයන් හා යෙදෙන නාමය සප්තමී විභක්ති ගනී.

कवीषु श्रेष्ठः अश्वघोषः।

**ක්‍රියාකාරකම 3.17**

०१. उपमाषु कालिदासः प्रमुखः भवति।

०२. अर्थगौरवे भारवी प्रधानः भवति।

०३. उपदेशे विष्णुशर्मः निपुणः भवति।

०४. तर्कणे नीतिज्ञः चतुरः भवति।

०५. धर्मे स्वामी तथागतः भवति।

०६. धनेषु ईश्वरः कुवेरः भवति।

०७. शद्बानुप्रासे अश्वघोषयतीन्द्रः कुशलः भवति।

01. ඉහත වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න. සප්තමී විභක්ති පද තෝරන්න.

02. පහත වාක්‍යවලට සුදුසු සප්තමී විභක්ති පද යොදන්න.

०१. ...............स्वामी गोपालः भवति ।

०२. .................. अधिपतिः राजा भवति ।

०३. .................. निपुणः रावणः भवति ।

०४. .................. स्वामी पिङ्गलकः भवति ।

०५. .................. ईश्वरः चन्द्रः भवति ।

( वने / रोत्रौ / युद्धे / गोषु / नरेषु )

පහත ඇති වාක්‍යවල හිස්තැන් පුරවන්න.

01. අවධාරණාර්ථයෙහි .............................. විභක්ති පද යෙදේ.
02. නිර්ධාරණාර්ථයෙහි .............................. විභක්ති පද යෙදේ.
03. අනාදරාර්ථයෙහි .............................. විභක්ති පද යෙදේ.
04. භාවාර්ථයෙහි .............................. විභක්ති පද යෙදේ.
05. නිමිත්තාර්ථයෙහි .............................. විභක්ති පද යෙදේ.
06. ස්වාමී, ඊශ්වර, අධිපති, ආදී ශබ්ද සමග ............................ විභක්ති පද යෙදේ.

उत्स्वे व्यसने प्राप्ते
दुर्भिक्षे शतृशंकटे ।
राजद्वारे श्मशाने च
यस्तिष्ठतिस बान्धवः ॥

**උත්සවයෙහි ද, විපතක් ආ විට ද, ආහාරපාන හිඟගල්හි ද, සතුරු උපද්‍රව ඇතිවිට ද, රජදොරටුවෙහි ද, සොහොනෙහි ද යමෙක් අත්නොහැර සිටියි නම් ඔහු නෑයෙකි.**

## कथा १

कस्मिंश्चिदधिष्टाने  देवशर्मा नाम ब्राह्मणः प्रतिवसति स्म। तस्य भार्या सुतमजनयत्। तस्मिन्नेव दिने नकुली नकुलम् प्रसूय मृता। अथ सा सुतवत्सला दारकवत् तमपि नकुलं स्तन्य-दानाभ्यङ्गमर्दनादिभिः पुपोष। परं तस्य न विश्वसिति। अपत्यस्नेहस्य सर्वस्नेहातिरिक्तया सततमेवमाशङ्कगते। यत् कदाचिदेष स्वजातिदोषवसादस्य दारकस्य विरुद्धमाचरिष्यति इति।

अथ सा कदाचिच्छय्यायां पुत्रं शाययित्वा जलकुम्भमादाय पतिमुवाच। ब्राह्मणजलार्थमहं तडागे यास्यामि। त्वया पुत्रोऽयं नकुलाद्रक्षणीयः। अथ तस्यां गतायां ब्राह्मणोऽपि शून्यं गृहं मुक्त्वा भिक्षार्थं क्वचिन्निर्गयः। अत्रान्तरे दैववशात् कृष्णासर्पो बिलान्निष्कान्तः। नकुलोऽपि तण् स्वभ-ाववैरिणं मत्वा भ्रातृरक्षणार्थं सर्पेण सह युद्ध्वा सर्पं खण्ड्शः कृतवान्। ततो रुधिरप्लावित-वदनः सानन्दं स्वव्यापारप्रकाशणार्थं माथुः सम्मुखे गतः। माताऽपि तं रुधिरक्लिन्नमुखमवकोक्य शङ्कितचित्ता नूनमनेन दुरात्मना मम दारको भक्षित इति विचिन्त्य कोपात् तस्योपरि तं जलकुम्भं चिक्षेप। एवं सा नकुलं व्यापद्य यावत् प्रलपन्ती गृह आगच्छति तावत् सुतस्तथैव सुप्तस्तिष्ठति। समीपे कृष्ण सर्पं खण्डशः कृतमवलोक्य पुत्रवधशोकेनात्मशिरोवक्षःस्थलं च ताडयि-तुमारब्धा। अत्रान्तरे ब्राह्मणो गृहीतनिर्वापः समायातो यावत् पश्यति तावत् पुत्रशोकाभि-तप्ता ब्राह्मणीप्रलपति। भो भो लोभात्मन् लोभाभिभूतेन त्वया न कृतं मद्वचः। तदनुभव साम्प्रतं पुत्रमृत्युदुःखवृक्षफलम्। अथवा साध्विदमुच्यते

## ක්‍රියාකාරකම 3.18

01. ඉහත ඡේදයේ හමුවන පහත දී ඇති පහත වචනවල විභක්ති නම් කරන්න.

| | |
|---|---|
| ब्राह्मणः | .................. |
| शोकेन | .................. |
| जलकुम्भं | .................. |
| शय्यायां | .................. |
| मातुः | .................. |
| त्वया | .................. |
| सर्पं | .................. |
| सा | .................. |
| तडागे | .................. |
| बिलात् | .................. |

02. පහත සඳහන් වචන හා ඉදිරියෙන් ඇති විභක්ති ගලපන්න. ඊතල මගින් යා කරන්න.

| වචන | විභක්ති |
|---|---|
| तस्यां गतायां | प्रथमा |
| अस्य दारकस्य | पञ्चमी |
| नकुलात् | द्वितीया |
| अनेन दुरात्मना | सप्तमी |
| मुरवं | षष्ठि |
| सुतः | पञ्चमी |
| बिलात् | तृतीया |
| त्वया | द्वितीया |
| फलम् | तृतीया |
| ब्राह्मणी | प्रथमा |

03. පහත සඳහන් වැකිවල ඇති කාරක ප්‍රයෝග කවරේදැයි සඳහන් කරන්න.

०१. कोपात् तस्योपरि तं जलकुम्भं चिक्षेप।

०२. तस्यां गतायां ब्राह्मणोपि शून्यं गृहंमुक्त्वा भिक्षार्थं क्वचित् निर्गतः।

०३. यत् कदाचित् एष स्वजातिदोषवसात् अस्य दारकस्य विरुद्धं आचरिष्यति।

०४. त्वया पुत्रोऽयं नकुलादुक्षणीयः।

०५. अत्रान्तरे दैववशात् कृष्णसर्पो बिलान्निष्क्रान्तः।

०६. सर्पेन सह युद्ध्वा सर्पः खण्डशः कृतवान्।

०७. मातापि शङ्कितचित्ता नूनमनेन दुरात्मना मम दारको भक्षित इति।

०८. समीपे कृष्णसर्पं खण्डशः कृतमवलोक्य पुत्रवधशोकेन आत्मशिरो वक्षस्थलं च ताडयितुमारब्ध।

०९. भोः! भेः! लोभात्मन् त्वया नकृतं मद्वचः।

१०. सा सुतवत्सला दारकवत् तमपि नकुलं पुपोष।

04. පහත සඳහන් වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.

०१. नन्दः मुनौ धर्मं ब्रुवाणोऽपि मदनैककार्य्यं विजहार।

०२. नन्दः ज्ञातिषु धर्मं प्रति आदृतेषु प्रियया सहायः विजहार।

०३. सा सुन्दरी स्त्रिषु सुन्दरी बभूव।

०४. नंन्दः नरेषु अत्यन्तमनोहरेण रूपानुरूप चेष्टितौ बभूव।

०५. तथागतः च आगतभैक्षकालः भैक्षाय तस्य वेश्म प्रविवेश।

०६. बुद्धः प्रेक्षजनस्य प्रमादात् भिक्षां अलब्ध्वा पुनः जगाम।

०७. अस्य जनस्य अनुग्रहाय भगवान् गुरुः नः गृहं प्रविष्टः शङ्के।

०८. नन्दः च अग्रतः गत्वा तस्मै अग्रतमाय ननाम।

०९. प्रासादसंस्थः अनुग्रहाय भगवन्तं अन्तः प्रविष्टं अश्रौषं।

१०. परांमुखः नन्द तु सुगतं अन्यमनस्कं विज्ञाय मार्गात् आरात् गृहं यियासुः ससार।

13.8 පහත වාක්‍ය සංස්කෘතයට පරිවර්තනය කරන්න.

01. ඔවුහු පන්සලට යති.

02. මුනිවරු අසපුවලට යති.

03. ගුරුවරු දෙදෙනා පුස්තකාලයට පිවිසෙත්.

04. ගැහැණු ළමයි වැවට බසිති.

05. කුමාරිකාවෝ උයනට යති.

06. ඔබ පාසලට යහි ද?

07. අම්මා පොළට යයි.

08. ගොවියෝ කුඹුරුවලට යති.

09. කුරුල්ලෝ කැදලි කරා පියාඹති.

10. අපි කඩේට යමු.

13.9 පහත සඳහන් වාක්‍ය අතීතකාලයට හරවන්න.

०१. त्वं कुत्र गच्छसि ?

०२. वयं क्षीरं पिबामः।

०३. ते पुस्तकं पठन्ति।

०४. मातरः शिशून् रक्षन्ति।

०५. बालिके गीतं गायतः।

०६. युवां कुत्र वसथः?

०७. तौ किं मन्त्रयतः?

०८. कृषीवलौ वृषभौ ताडयतः।

०९. अहं संस्कृतं लिखामि।

१०. कवयः चन्द्रं वर्णयन्ति।



කර්මකාරක වාක්‍යයක ප්‍රධාන වනුයේ කර්මපදය යි. ප්‍රධාන කර්මය ප්‍රථමා විභක්තියෙන් තැබේ. මෙබඳු වාක්‍යයන්හි කර්තෘපදය තබන්නේ තෘතීයා හෙවත් තුන්වන විභක්තියෙනි.

### 3.1 තෘතියා විභක්තිය කර්මකාරක වාක්‍යයන්හි කර්තෘපදය ලෙස යෙදීම.

උදා:-

| | |
|---|---|
| पुत्र्या दूरदर्शनं दृश्यते। | දුව විසින් රූපවාහිනිය නරඹනු ලැබේ. |
| पित्रा वार्तापत्रिका पठ्यते। | තාත්තා විසින් පුවත්පත කියවනු ලැබේ. |
| मात्रा पायासं पच्यते। | අම්මා විසින් කිරිබත උයනු ලැබේ. |

### 3.1.1 විසින් - යනාර්ථය ද තෘතීයා විභක්තියෙන් සූචනය කෙරේ.

| | | |
|---|---|---|
| ගොවියා විසින් | - | कृषिकेन |
| වඳුරා විසින් | - | कपिना |
| නෑයා විසින් | - | बन्धुना |
| අම්මා විසින් | - | मात्रा |

13.10 සුදුසු රූප යොදා හිස්තැන් පුරවන්න.

०१. ......................................... पुस्तकः रच्यते। (ලේඛකයා විසින්)

०२. ......................................... पुत्रः नीयते। (තාත්තා විසින්)

०३. ......................................... बीजानि उप्यन्ते। (ගොවියන් විසින්)

०४. ......................................... श्लोकः पठ्यते। (ඇය විසින්)

०५. ......................................... भारः उह्यते। (සේවකයන් දෙදෙනා විසින්)

०६. ......................................... कदलीफले खाद्येते। (වඳුරන් විසින්)

०७. .......................................... पञ्चालिका दीयते । (අම්මා විසින්)

०८. .......................................... मृगः मार्यते । (සිංහයා විසින්)

०९. .......................................... धनं चुर्यते । (සොරුන් විසින්)

१०. .......................................... जालं कृन्त्यते । (මීයන් දෙදෙනා විසින්)

3.2 **सह - सार्धं - समं - साकं** (සමග) යන නිපාත සමග යෙදෙන නාමපදයන් ද තෘතීයා විභක්තියෙන් තැබේ.

| | | | |
|---|---|---|---|
| ගොවියා සමග | - | कृषिकेन | सह |
| වඳුරා සමග | - | कपिना | |
| නෑයා සමග | - | बन्धुना | |
| අම්මා සමග | - | मात्रा | |

13.11 පහත සඳහන් වාක්‍යයන් **सह - सार्धं - समं - साकं** නිපාතය සමග ලියන්න.

01. ඔහු ඇය සමග පාසල් යයි.
02. අම්මා තාත්තා සමග බයිසිකලයෙන් පොළට ගියා ය.
03. ඔබ මා සමග එහෙ යහි ද?
04. නුඹලා ඊයේ ඔවුන් සමග පාඩම් කළෙහු.
05. මුනිවරු පඬිවරුන් සමග ධර්මය සාකච්ඡා කළහ.
06. ශිව දෙවිඳු උමාව සමග හිමාලයට ගියේ ය.
07. මුවෝ මුවදෙනුන් සමග වනයෙහි හැසිරෙති.
08. මීමැස්සා මීමැස්සිය සමග මල් පැණි බොයි.
09. රජතුමා ඇමැතිවරුන් දෙදෙනා සමග පිටරට ගියේ ය.
10. ගුරුවරුන් දෙදෙනා ළමයින් සමග චාරිකාව යත්.

3.3 යම් කිසිවක උපකාරයෙන් යමක් කරයි ද එය ද ප්‍රකාශ කරනුයේ ද තෘතීයා විභක්තියෙනි.

शिक्षकः **सुधाखण्डेन** लिखति। ගුරුවරයා හුණුකැල්ලෙන් ලියයි.

13.12 පහත වාක්‍ය සිංහලට නගන්න.

०१. कृषिकः हलेन कर्षति।

०२. जनाः पुष्पैः बुद्धं पूजयन्ति।

०३. सा छुरिकया शाकं कर्तयति।

०४. पुरुषः पादाभ्यां चलति।

०५. उपासकाः हस्ताभ्यां प्रणमन्ति।

०६. चटकाः चञ्चुभिः भक्षयन्ति।

०७. माता घट्याः समयं जानाति।

०८. नराः विमानेन विदेशं गच्छन्ति।

०९. छात्रः द्विचक्रेन पाठालयं विशति।

१०. बालिका लेखन्या सुन्दराक्षराणि लिखति।

3.4 **विना** යෝගයේ ද තුන්වැනි විභක්තිය යෙදේ.

**विना** - හැර/තොරව

सूर्येण **विना** प्रकाशः न भवति।

13.13 පහත වාක්‍ය සිංහලට නගන්න. **विना** නිපාත යෝගය සහිත වාක්‍ය කිහිපයක් නිර්මාණය කරන්න.

०१. घट्या विना समयं ज्ञातुं न शक्नोति।

०२. गृहं बालकैः विना न शोभते।

०३. धर्मं विना मित्रं नास्ति।

०४. विना आश्रया न शोभन्ते वनिताः।

०५. वयं नेत्राभ्यां विना द्रष्टुं न शक्नुमः।

०६. जलेन विना पुष्पाणि म्लायन्ते।

०७. बालकः मात्रा विना न गच्छति ।

०८. वयं तैः विना न जीवामः ।

०९. भोजनं लवणं विना रुचिकरं न भवति ।

१०. सभा पण्डितः विना न शोभते ।



**परोपकारः पुण्याय पापाय परपीडनम् ।**

චතුර්ථී විභක්තිය සම්ප්‍රදානාර්ථයෙහි යෙදේ.

උදා-:

| | |
|---|---|
| **मात्रे शाटिकां ददाति ।** | අම්මාට සාරියක් දෙයි. |
| **स्वस्रे पञ्चालिकां यच्छति ।** | නංගීට බෝනික්කෙක් දෙයි. |

ඒ හැරුණු විට සඳහා, පිණිස යනාර්ථයන්හි ද සිව්වන විභක්තිය යෙදේ.

උදා-: **बालकाः ज्ञानाय विद्यालयं गच्छन्ति ।**

මෙහි ළමයි පාසලට යනු ලබන්නේ දැනුම ලබාගැනීම සඳහා ය. ඒ නිසා **ज्ञानाय** යන පදය සිව්වන විභක්තියෙන් තබා ඇත.

13.14 පහත වගුව ඇසුරෙන් වාක්‍ය 10ක් නිර්මාණය කරන්න.

| | | |
|---|---|---|
| अग्रजः - अनुजः - स्वसा  माता - पिता | मोक्षाय | धर्मे सञ्चरति । |
| याचकः - व्याघ्रः - भिक्षुः | आहाराय<br>गोचराय<br>पिण्डाय | नगरं<br>वनं<br>ग्रामं } प्रविशति । |

13.15 පහත සඳහන් වාක්‍ය සංස්කෘතයට පරිවර්තනය කරන්න.

01. අපි විනෝදය පිණිස සතුන් නොමරමු.
02. සැප පිණිස ධර්මයෙහි හැසිරෙන්න.
03. ගැහැණු ළමයි නෑම සඳහා වැවට යති.
04. රජතුමා යුද පිණිස යුද්ධභූමියට පිවිසෙයි.
05. ඔවුහු රට උදෙසා දිවි පූජා කළ හ.
06. ඇ ඉගෙනීම සඳහා මුදල් වියදම් කළා ය.
07. මම මෝක්ෂය පිණිස කුසල් පුරමි.
08. දෙමව්පියෝ දරුවන්ගේ සැප පිණිස දුක් විඳිති.
09. ගුරුවරු සතුට සඳහා උගන්වති.
10. මුනිවරු දුකින් මිදීම සඳහා වෙර දරති.

1.3 **नमः - स्वस्ति** නිපාතයන් ද චතුර්ථී විභක්ති පද සමග යෙදේ. **නමස්කාර වේවා. සෙත්වේවා** යනු එම නිපාතයන්හි අර්ථ වේ.







13.16 ඉහත වගුව ඇසුරෙන් වාක්‍ය 10ක් නිර්මාණය කර ඒවා සිංහලට නගන්න.



पादपानां भयं वातात् पद्मानां शिशिराद् भयम्।
पर्वतानां भयं वज्रात् साधूनां दुर्जनाद् भयम्।

යමකින් හෝ යම් කෙනෙකුගෙන් යමෙක් හෝ යම් දෙයක් වෙන් වේ නම් ඒ වෙන්වීමට සීමා වූ වස්තුව අපාදාන නම් වේ. ඒ අපාදානාර්ථයෙහි පඤ්චමී විභක්තිය යෙදේ. මේ අපාදානය දෙවැදෑරුම් වේ.

01. චලාපාදානය 02. අචලාපාදානය වශයෙනි.

ස්ථාවර නොවන දෙයකින් වෙන් වේ නම් එය චලාපාදාන නම් වේ. අචලාපාදාන යනු ස්ථාවර දෙයකින් සිදුවන වෙන්වීමයි.

උදා-: दुर्जनाद् भयम्।
आचार्याद् ज्ञानं लभते। යන වාක්‍ය චලාපාදානයට නිදසුන් වේ.

पद्मानां शिशिराद् भयम्।
पर्वताद् नदी प्रवहति। යන වාක්‍යය අචලාපාදානයට නිදසුන් වේ.

13.17 (අ) වගුව ඇසුරෙන් වාක්‍ය නිර්මාණය කරන්න.
(ආ) එම වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.

<table>
<tr><td>पितामहः - पितामही<br>खगः - सिंहः - नौका</td><td colspan="2">गृहात्<br>नीडात् - गुहायाः - कूलात्</td><td>निष्क्रमति।</td></tr>
<tr><td>गुरवः - छात्राः<br>पितरः - सेवकाः</td><td colspan="2">विद्यालयात्<br>कार्यालयात्</td><td>प्रत्यागच्छन्ति।</td></tr>
<tr><td>नद्यः - निर्झराः</td><td colspan="2">पर्वतात् - पर्वतेभ्यः</td><td>प्रवहन्ति।</td></tr>
<tr><td>अहं - आवां -वयं<br>त्वं -युवं - यूयं</td><td>ग्रामात्</td><td>नगरं<br>प्रवासं<br>वनं</td><td>प्रति गच्छामि। गच्छावः। गच्छामः।<br>प्रति गच्छसि। गच्छथः। गच्छथ।</td></tr>
</table>



ස්වාමී අර්ථයෙහි හයවෙනි විභක්තිය යෙදේ. එනම් යම් දෙයක අයිතිය අඟවන නාමපදය ෂෂ්ඨී විභක්තියෙන් තැබිය යුතු වේ.

दुहिता **भर्तुः** गृहं गच्छति। माता **दुहितुः** शिशुं लालयति। शिशवः **मातॄणां** गानेन तुष्यन्ति। पत्नी **पत्युः** आज्ञाम् अनुसरति। पुत्रः पितुः आज्ञया **जामातुः** गृहात् स्वसारम् आनयति। वयं **शकटस्य** शब्दम् आकर्णयामः। यूयं **धेनोः** क्षीरं पिबथ।

*बालादर्शे नवमः पाठः।*

13.18 (අ) මෙහි වර්ණිත පදයන්හි අර්ථය ලියන්න.
(ආ) එහි ඒකවචනයෙන් යෙදී ඇති පදයන් බහුවචනය හරවන්න.
(ඇ) උද්ධෘතයෙහි සරල අදහස ලියන්න.

3.2 नभसो भूषणं चन्द्रो नारीणां भूषणं पतिः।
पृथिव्या भूषणं राजा विद्या सर्वस्य भूषणम्॥

(අ) මේ ශ්ලෝකයෙහි යෙදී ඇති වාක්‍ය ලියන්න.
(ආ) ඒවායෙහි සිංහල අදහස ලියන්න.
(ඇ) ෂෂ්ඨී විභක්තිගත පද උපුටා දක්වන්න.

13.19 පහත සඳහන් වාක්‍යය සංස්කෘතයට නගන්න.

01. මේ අපේ දේශයයි.
02. ඔහුගේ දේශනයට සවන්දෙන්න.
03. සිසුන්ගේ තරඟ අද පැවැත් වේ.
04. හිරුගේ රැසින් මල් පිපේ.
05. මුනිවරුන්ගේ අනුශාසනා අනුගමනය කරමු.
06. එහෙ ගැහැණු ළමයින්ගේ පාසල ඇත.
07. අපේ මව් බස සිංහල වේ.
08. ඔබගේ නැගණියගේ නම මොකක් ද?
09. ඔබේ මිතුරාගේ පන්තිය කොහෙ ද?
10. කිරිඅත්තාගේ කතාව මිහිරි ය.



स्वगृहे पूज्यते मूर्खः स्वग्रामे पूज्यते प्रभुः ।
स्वदेशे पूज्यते राजा विद्वान् सर्वत्र पूज्यते ॥

හත්වන විභක්තිය ආධාරාර්ථයෙහි යෙදේ. කර්තෘ හා කර්මය දරන්නා ආධාර නම් වේ.

काकः शाखायाम् उपविशति। स दिवा आकाशे डयते नक्तं नीडे वसति। भेकाः वापीषु वसन्ति। ते वर्षासु रटन्ति। भेकः भूमौ प्लवते। लतासु कुसुमानि विकसन्ति। वयं तरुषु फलानि पश्यामः। समुद्रे रत्नानि जायन्ते। नराः भूमौ वसन्ति। देवाः स्वर्गे तिष्ठन्ति।

*बालदर्शे दशमः पाठः।*

4.1 යම් දෙයක හෝ යම් කෙනෙකු දරා සිටින ස්ථානය හැඟවීම

| | | |
|---|---|---|
| मनुष्यः / देवः / भिक्षुः भूपतिः / गृहपतिः / मुनिः / गुरुः / शुकः / मत्स्यः | कुत्र | वसति ? |
| | लोके - स्वर्गे- विहारे- प्रासादे - गृहे - आश्रमे - पाठालये - नीडे - जले | |

උදා:-

खगः कुत्र वसति ?    खगः नीडे वसति।

13.20 (අ) උදාහරණයට අනුව ඉහත වගුව ඇසුරෙන් වාක්‍ය 10ක් නිර්මාණය කරන්න.
(ආ) පහත වගුව ඇසුරෙන් ද වාක්‍යය තනා ඒවා සිංහලට පරිවර්තනය කරන්න.

| | | | |
|---|---|---|---|
| देवः / भिक्षुः / भूपतिः<br>गृहपतिः / मुनिः / गुरुः /<br>शुकः | कुत्र | | वसति ? |
| | एकस्मिन्<br>तस्मिन् | स्वर्गे- विहारे- प्रासादे - गृहे -<br>आश्रमे - पाठालये - नीडे | |

4.2. කාලාර්ථයෙහි ද හත්වන විභක්තිය යෙදේ.

| | | | |
|---|---|---|---|
| त्वं कदा तत्र गच्छसि ? | अहं | एकवादने<br>सार्धसप्तवादने<br>सपादाष्टवादने<br>पञ्चोन द्वादशवादने<br>अस्मिन् सप्ताहे<br>अद्य प्रत्यूषे<br>अस्मिन् बुधवारे<br>रविवारे | गच्छामि । |

උදා-:

त्वं कदा तत्र गच्छसि ? — ඔබ එහෙ යන්නේ කීයට ද?

अहं सार्धसप्तवादने गच्छामि । — මම එහේ 7.30ට යමි.

13.21 ඉහත වගුව ඇසුරෙන් වාක්‍ය නිර්මාණය කරන්න.

अङ्गीकृतं सुकृतिनः परिपालयन्ति ।

යහපත් අය තමා පිළිගත් දෙය රැකගනිත්.

अचिन्त्यं हि फलं सूते सद्यः सुकृतपादपः ।

යහපත් වෘක්ෂයෝ නොසිතිය හැකි තරම් ඵල ලබාදෙයි.

अतिभुक्तिरतीवोक्तिः सद्यः प्राणापहारिणी ।

අධික කෑමත් අධික කථාවත් ඉක්මනින් මරණය ළඟාකරයි.

१४
चतुर्दशः पाठः।

# तत्र कोऽपि सन्देहो नास्ति।

## (ववाक्यनिर्माणपरिचयः। ०२)

### 14.1 පහත සඳහන් සංස්කෘත වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.

०१. स्वागतम् । इदानीं त्वं तेन सह कुत्र गच्छसि ।
०२. क्षम्यताम्। अत्र केवलं मा तिष्ठ।
०३. चिन्ता मास्तु। सा प्रवासं न गमिष्यति।
०४. कृपया प्रतीक्षां कुरु। सहसा प्रातरासं कृत्वा आगमिष्यामि।
०५. भवान् अयं सङ्केतः कुत्रेति जानासि। आम्। एवमेव अग्रे गच्छन्तु। वामतः क्रीडाङ्गणं दृश्यते। तस्य दक्षिणतः तत् तव मित्रस्य गृहमस्ति।
०६. तथा न वदतु। तत्र कोऽपि सन्देहो नास्ति। किमर्थं पूर्वं न उक्तवान्।
०७. सा कुत्र केन सार्धं गतेति निश्चयो नास्ति।
०८. किमर्थं एतावान् विलम्ब इति मा पृच्छ। भवतः वचनं सत्यम्। मम वचनं कः श्रुणोति।
०९. अन्यथा मा चिन्तय। यानं न प्राप्तम्। अत एव विलम्बः।
१०. यावदहं प्रत्यागच्छामि। तावत् प्रतीक्षां करोतु। कतिवारमुक्तवान् एतद् मह्यं न रोचते इति।

### 14.2 පහත සඳහන් සිංහල වාක්‍ය සංස්කෘතයට පරිවර්තනය කරන්න.

01. පෙර ලංකාවේ යුද්ධයෙහි දක්ෂ චිරප්‍රසිද්ධ රජකෙනෙක් වාසය කළේ ය.
02. සිංහයා කැලයෙහි සිටින සිවුපාවුන් අතර නායකයා වේ.
03. පොහෝ දින පන්සල් එන - යන උපාසකවරු ධර්මශාලාවෙහි වාඩි වී සිටියහ.
04. ඇය නවකථාවක් ගැනීමට නගරයෙහි බැංකුව අසල පොත්හලට මල්ලී සමග ගියා ය.
05. අද උත්සවයෙහි ගී ගයනු ලැබූ ශිෂ්‍යාව මගේ එක ම නංගි වේ.
06. තාත්තා උදේ 7.00ට කාර්යාලයට ගොස් දිනපතා හවස 5.30ට ගෙදර එයි.
07. වඳුරෝ අත්තෙන් අත්තට පනිමින්, ඉදුණු පළතුරු කඩාගෙන කැහ.
08. අපේ ගමේ හැමදා ම හවස පන්සල ළඟ පිට්ටනියේ සෙල්ලම් කරන පිරිමි ළමයි ධර්මශාලාව ප්‍රතිසංස්කරණය කළහ.
09. දේශනය කළ ගුරුවරයාට, පාසලේ සිසුහු තෑග්ගක් පරිත්‍යාග කරති.
10. පාන්දර අවදිවන සීයා, ගෙදර ඇති කරන කුස්සිය ළඟ මඩුවේ සිටින එළදෙන ළඟට ගොස් කිරි දොවයි.

## 14.3 පහත උද්ධෘත සිංහලට පරිවර්තනය කරන්න.

०१. अथ तस्य साभिप्रायं वचनमाकर्ण्य स आह - किं वक्तुमना भवान्। तत्कथ्यतां यत्कथनीयमस्ति।

०२. सोऽपि दारुणं वचः समाकर्ण्य मोहमुपगतो न किंचिदप्युक्तवान्।

०३. यद्येवं तत्कुरुष्व यद्रोचते। तच्छ्रुत्वा सा सत्वरं गत्वा तानाह - यद्येवं भूयोऽपि वदसि। ततस्त्वां तत्क्षणमेव वधिष्यामि।

०४. स आह - गृहगतस्यासाधोऽपि नैतद्युज्यते वक्तुम्। तद्यावन्न कश्चिद्वक्ति तावच्छीघ्रं गम्यताम् इति।

०५. ततः स मयोक्तः - स्वामिन् न युक्तमिदं यन्मिदं यन्मित्रद्रोहेण जीवनं क्रियते।

०६. भोः न युक्तमुक्तं भवता। लघूनामपि दुर्जनानां मध्ये वस्तुं न शक्यते।

०७. मित्र- यद्येवं तन्नास्ति ते भयम्। उपायान्तरं विधाय ते नूनं घ्नन्ति।

०८. तत्किं कुर्मो वयम्। संप्रति वयं बुभुक्षया पदमेकमपि प्रचलितुं न शक्नुमः।

०९ भोः प्राप्तं दृष्टं वा किंचित्सत्त्वम्। वयं सर्वत्र पर्यटिताः परं न किंचित्सत्त्वमासादितं दृष्टं वा। भो मित्र - सम्यगभिहितं भवता।

१०. तदेव गतेऽपि किं कर्तव्यमित्यहं त्वां सुहृद्भावात्पृच्छामि।

## 14.4 පහත සඳහන් වාක්‍ය බහුවචනයට හරවන්න.

०१. हस्ती तिष्ठति। शीर्षं चलति।

०२. श्वेतः पक्षी उड्डयते।

०३. मम मित्रं मेधावी अस्ति।

०४. धननी नारी दानं ददाति।

०५. गुरुर्विद्या विद्यार्थिनं प्रश्नं पृच्छति।

०६. भगिनी पुष्पाणि जिघ्रति।

०७. छात्रोः घटिकां विलोकयति।

०८. सौचिकः सूच्या सीव्यति।

०९. पुत्री मात्रा सह उपविशति।

१०. स पञ्जरस्थाभ्यां पक्षिभ्यां पानीयं ददाति।

११. चौरः प्रहरिणो बिभेति।

१२. राजा हस्तिनोऽवरोहति।

१३. अस्य पक्षिणः पक्षौ सुन्दरौ स्तः।

१४. पुत्री मातुराज्ञां पालयति।

१५. शिक्षको विद्यार्थिषु विद्यार्थिनीषु च स्नेहं करोति ।
१६. मयि बहिर्गते मम भ्राता मम पुस्तकं पपाठ ।
१७. हंसः पुष्करिण्यां खेलति ।
१८. अन्नं दाता सर्वेषु दातृषु उत्तमो भवति ।
१९. हे मित्र ! दरिद्रेभ्यो ! धनं देहि ।
२०. हे भ्रातः - त्वमपि सावधानं भूत्वा सत्यमेव कथय ।

14.5 පහත සඳහන් වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.

०१. मयि विद्यालयं गते मम स्वसा मिष्टान्नं चखाद ।
०२. भिक्षुरद्य ग्रामे बभ्राम ।
०३. पित्राद्य मार्गणाय रूप्यके ददौ ।
०४. नार्यो मन्दिरे ननृतुः ।
०५. मम भगिनी मम पुस्तिकायां लिलेख ।
०६. मम पितामहो नवीनं कार्यानं चिक्राय ।
०७. चौरा अद्य बहूनि गृहोपकारणानि चोरयामासुः ।
०८. पुरा अपि युवका धनमार्जितुं विदेशं जग्मतुः ।

14.6 සුදුසු පරිදි යා කර, වාක්‍ය තනා ඒවා සිංහලට පරිවර්තනය කරන්න.

| अ | आ |
|---|---|
| छात्राः विद्यालयं गन्तुम् | पतत् अस्ति । |
| बालिका वृक्षान् | तत्पराः भवन्तः सन्ति । |
| वृक्षात् फलम् | पठन्तौ स्वः । |
| यूयं किम् | सिञ्चन्ती अस्ति । |
| आवां पाठम् | कुर्वन्तः स्थ । |

14.7 පහත සඳහන් වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.

०१. एकवारं दृष्टं नरं मा विस्मर।
०२. दुर्जनोऽदत्तं परद्रव्यमप्यादत्ते।
०३. अपरिचितो जनः सहसा न विश्वसनीयः।
०४. त्वयानीतं जलं शीतमासीत्।
०५. मम स्वसा वाटे मृतं सर्पं ददर्श।
०६. त्वया क्रीतं पुस्तकमेकवारं मां दर्शय।
०७. सम्यक् प्रक्षालितानि फलान्येव खाद।
०८. क्षेत्रं कृष्टवान् कृषिकः तत्र बीजानि वपति।
०९. शास्त्रमधीतवान् जनः तस्य व्याख्यानं करोति।
१०. निरपराधं जनं ताडितवान् पुरुषो निन्दितो भवति।

14.8 **श्रोतुम् - नेतुम् - स्थातुम् - हर्तुम् - प्रेक्षितुम् - गन्तुम् - त्यक्तुम् - द्रष्टुम् - पक्तुम् - कर्तुम् - ज्ञातुम् - प्राप्तुम् - वोढुम् - कथयितुम्** යන තුමන්ත ක්‍රියාපද යොදමින් පරිපූර්ණ වාක්‍ය බැගින් රචනා කරන්න.

14.9 **गम् - भू - नी - हृ - पा - ग्रह् - मन् - वच् - हा - हन्** යන ධාතුන්ගෙන් සෑදෙන පූර්වක්‍රියා භාවිත කරමින් අර්ථවත් වාක්‍ය 10ක් නිර්මාණය කරන්න.

प्रत्यासन्नविपत्तिमूढमनसां प्रायो मतिः क्षीयते।
ළං වූ විපත් ඇති මෝඩයන්ගේ නුවණ පිරිහේ.

प्रवादमोहितः प्रायो न विचारक्षमो जनः।
කථාවලින් මුළා වූ ජනයා විචාරශීලී නොවේ.

प्राणानुदारा विमृजन्त्यर्थिनो न पराङ्मुखाः।
උදාර අදහස් ඇත්තෝ ජීවිත පරිත්‍යාග කරත්. බියසුල්ලෝ එසේ නොකරත්.

# १५ पञ्चदशः पाठः ।

# सस्नेहं निमन्त्रयामि ।

## (रचनापरिचयः । ०१)

**ක්‍රියාකාරකම 15.1**

01. පහත සඳහන් රචනාවෙහි හිස්තැන් සුදුසු පරිදි සම්පූර්ණ කර නැවත ලියන්න.

मम .............................................. नाम । अहं ...........................................अस्मि । मम ग्रामः ..... ......................................नाम । स ...........................................जनपदौ अस्ति । तत्र................... ....................जनाः वसन्ति । केचित् ..........................................च भवन्ति । तेषां प्रामुख्यजीवनोपायं .......................................... भवति । मम पिता ....................................... नाम । स एकस्मिन्......... ................................ सेवां करोति । मम जननी ...................................भवति । सा ........................ एव वसति । किन्तु नित्यमेव अस्माकम् अभिवृद्ध्यै ................................. । पितामहः ..................... .................अभूत् । पितामही ...................................... नाम । सा मुख्या ................................ ..... उपासिका भवति स्म । मातामहो दिवंगतः । मातामही अस्माकं गृहे .....................................सह वसति । सा नित्यम् ऐतिहासिककथाः................................ । मे एका स्वसा अपि ........................... । सा ............................विद्यालये ........................... वर्गे पठति । अनुजः तस्मिन्नेव ....................... ज्येष्ठवर्गे .................. । अग्रजः एकस्मिन् ............................. सेवां ..................... । अस्माकं गृहे ............................ नाम शुनकपोतकः कोऽप्यस्ति । वयं सर्वे तं ..................... । मम स्वसा ....................... सह नित्यं ........................ । अस्माकं ......................... दूरदर्शनं न .................. । ततः वयं सायं पुस्तकानि ....................... । पिता सर्वदा वार्तापत्रिकां .......................... । माता उच्चैः गीतानि ............................ । मातामही उच्चैः श्लोकाः ...................... । रात्रौ .......................... सम्भूय अन्नं............................ । अहं ..................... समीपे शयनं .......................... ।

පහත වාක්‍ය හදාරන්න.

- ▲ गच्छति ।
- ▲ स गच्छति ।
- ▲ स नगरं गच्छति ।
- ▲ अग्रजः नगरं गच्छति ।
- ▲ अग्रजः मात्रा सह नगरं गच्छति ।
- ▲ अग्रजः प्रातः मात्रा सह नगरं गच्छति ।
- ▲ अग्रजः प्रातः मात्रा सह द्विचक्रेण नगरं गच्छति ।
- ▲ अग्रजः प्रातः पञ्चवादने मात्रा सह द्विचक्रेण नगरं गच्छति ।
- ▲ अग्रजः प्रातः पञ्चवादने क्षीरं पीत्वा मात्रा सह द्विचक्रेण नगरं गच्छति ।
- ▲ अग्रजः प्रातः पञ्चवादने क्षीरं पीत्वा मात्रा सह द्विचक्रेण शाकानि क्रीणार्थं नगरं गच्छति ।
- ▲ अग्रजः प्रातः पञ्चवादने क्षीरं पीत्वा मात्रा सह द्विचक्रेण शाकानि क्रीणार्थं शनैः शनैः नगरं गच्छति ।

**ක්‍රියාකාරකම 15.2**

- ඉහත වාක්‍ය රටා අනුව පහත සඳහන් වාක්‍ය සංස්කෘතයට නගන්න.

01. උදේ 6.30ට පෙර, තාත්තා කාර්යාලයට බසයෙන් නංගී සමග යයි.
02. කිරි අත්තා, කිරි අම්මා සමග බයිසිකලයෙන් හැමදා ම හවස හයට පන්සලට ගොස් බණ අසයි.
03. අපි දිනපතා උදේ 7.30ට පෙර ඉගෙනීම සඳහා බසයෙන් පාසලට යමු.
04. මිනිස්සු භාණ්ඩ මිලදී ගැනීමට ඉරිදා උදේ දරුවන් සමග දුම්රියෙන් නගරයට යති.
05. නිමල් අද උදේ 10.00ට පොතක් කියවීමට කාර් එකෙන් මල්ලිත් සමග පුස්තකාලයට ගියේ ය.

## ක්‍රියාකාරකම 15.3

- චිත්‍රය ඇසුරෙන් වාක්‍ය 10ක් සංස්කෘත භාෂාවෙන් ලියන්න.



सूर्यः – कोकिलः – रक्तकेसरः
मधुरपिष्टकानि – स्थालिकाः

.....................................................................
.....................................................................
.....................................................................
.....................................................................
.....................................................................

- චිත්‍රය ඇසුරෙන් වාක්‍ය 10ක් සංස්කෘත භාෂාවෙන් ලියන්න.

शकटाः – शाकटिकाः – धान्यानि
– सारमयाः – कुक्कुटाः – चलन्ति



.....................................................................
.....................................................................
.....................................................................
.....................................................................
.....................................................................

- චිත්‍රය ඇසුරෙන් වාක්‍ය 10ක් සංස්කෘත භාෂාවෙන් ලියන්න.



तरी – पुलिनम् – आसन्दी –
वायुच्छत्रम् – प्लवन – वागोलः

.....................................................................
.....................................................................
.....................................................................
.....................................................................
.....................................................................

• චිත්‍රය ඇසුරෙන් වාක්‍ය 10ක් සංස්කෘත භාෂාවෙන් ලියන්න.



सर्वयानस्थानम् - उत्तरणसेतुः - चालकः - सोपानपथः -स्यूतः

..........................................................................

..........................................................................

..........................................................................

..........................................................................

..........................................................................

**ක්‍රියාකාරකම 15.4**

01. පහත වාක්‍ය රටා අධ්‍යයනය කර, තවත් එබඳු වාක්‍ය නිර්මාණය කරන්න.

## प्रथमं सोपानम्।

आम्रवृक्षात् पत्राणि पतन्ति। तस्मात् फलानि अपि पतन्ति।
(අඹ ගසෙන් කොළ වැටෙති. එසේ ම ගෙඩි ද වැටෙති)

पिता पुत्र्यै स्नेहं कुरुते। माता अपि तस्यै स्नेहं कुरुते।
(පියා දියණියට ආදරය දක්වයි. මව ද ඇයට ආදරය කරයි)

## द्वितीयं सोपानम्।

सर्वे संभूय तिष्ठन्ति। (සියල්ලෝ රැස් වී සිටිති.)
पादयोः निपत्य प्रार्थयते। (දෙපාමුල වැටී ඉල්ලයි)
तां सन्त्यज्याहं गच्छामि। (ඇය හැරදමා මම යමි.)

## तृतीयं सोपानम्।

अहं बहिर्गन्तुम् इच्छामि।

(මම එළියට යන්නට කැමැත්තෙමි.)

मातरं द्रष्टुं गच्छति।

(අම්මා බලන්නට යයි.)

## चतुर्थं सोपानम्।

अधिकारी लिखन् दूरवाणीं गृह्णाति।

(අධිකාරීවරයා ලියමින් දුරකථනය ගනියි.)

छात्रः पाठान् अवगच्छन् उत्तरं लिखति।

(සිසුවා පාඩම තේරුම් ගනිමින් උත්තර ලියයි.)

## पञ्चमं सोपानम्।

सा पुस्तकं पठती निद्रां करोति।

(ඇය පොත පාඩම් කරමින් නිදයි.)

अचला जलं नयती सख्या सह सम्भाषणं करोति।

(අචලා වතුර ගෙනෙමින් යෙහෙළිය සමග කථා කරයි.)

**ක්‍රියාකාරකම 15.5**

01. පහත උදාහරණ ඔස්සේ ආරාධනා පත්‍රයක් සංස්කෘත භාෂාවෙන් නිර්මාණය කරන්න.

### निमन्त्रणपत्रम् ।

कार्यक्रमः ।
दिनाङ्कः -
समयः -
स्थानम् -

मान्याः / आर्य / आर्ये

सगौरवभक्तिप्रेम्णा श्रीमन् /श्रीमति आत्मजस्य प्रथमजन्मदिनोत्सवाय निमन्त्रणं कुर्मः। सकुटुम्बं भवतां उपस्थितिः सम्प्रार्थ्यते ।

दर्शनोत्सुकः - भवदीयः ...............
दूरभाषः...............



### निमन्त्रणम् ।

प्रियार्य/ प्रियार्ये /श्रीमन् /श्रीमति

सस्नेहं सगौरवम् अस्माकं विद्यालये वार्षिक त्यागप्रदानोत्सवाय तुभ्यं समाराधनं कुर्मः। भवदागमनस्य प्रतीक्षायाम् ।

कार्यक्रमः ।
दिनाङ्कः -
समयः -
स्थानम् -

आमन्त्रकः ...............

दूरभाषः ...............

**ක්‍රියාකාරකම 15.6**

01. පහත සඳහන් දෙබස් අධ්‍යයනය කර සිංහලට පරිවර්තනය කරන්න.

02. දෙබස ඇසුරෙන් සරල සංවාදයක් නිර්මාණය කරන්න.

सुनीरः - सुप्रभातम्। स्वागतम्।

मयन्तः - तथैवास्तु भवान्। अपि सर्वं कुशलम्।

सुनीरः - आम्। सर्वमेव कुशलम्।

मयन्तः - अद्य कुत्र गच्छसि।

सुनीरः - अहम् अनुराधपुरं गच्छामि।

मयन्तः - किमर्थम्?

सुनीरः - अस्माकं मातुलस्य गृहम् अनुराधपुरेऽस्ति। मात्रा सह तत्र गच्छामि।

मयन्तः - सर्वयानेन अथवा धूमयानेन?

सुनीरः - धूमयानेन गन्तुम् इच्छामि। मातापि तथैवेच्छति।

मयन्तः- तथा अस्तु। विलम्बः जातः। शीघ्रं गन्तव्यम्। यात्रा ते सुखदा भूयात्।

सुनीरः - बहुशः धन्यवादः। पुनर्मिलामः।

**ක්‍රියාකාරකම 15.7**

01. පහත සඳහන් මාතෘකා ඔස්සේ සංස්කෘත භාෂාවෙන් කථාවක් ඉදිරිපත් කරන්න.

- महेन्द्रागमनम्।
- पारिसरिकरक्षणोपायः।
- देवानांप्रियतिष्य राजा।
- सिद्धार्थकुमरोत्पत्तिः।
- विद्या ददाति विनयम्।
- वसन्तकालः।
- परोपकारः।
- वृक्षरोपणम्। अस्माकं देशः। अस्माकं विद्यालयः।




### පළමු උදාහරණය

हे प्रियसदस्याः अद्य अहं ........................................................
विषये एकां कथां कथयिष्यामि। सर्वे मे कर्णं देहि।

### දෙවන උදාහරණය

स्वस्ति / मङ्गलं ते / स्वागतम्
अत्राभ्यागतेभ्यः सर्वेभ्यः मन्दावकाशं देहि मे किञ्चित् संस्कृतभाषया वक्तुम्।

### තෙවන උදාහරණය

समाराधितः प्राधाननिमन्त्रकप्रमुखाः, हे सर्वे प्रियार्यमिश्राः। अहं ........................................................
अस्मि। इदानीं दैवीभाषया किञ्चिद् वक्ष्यामि सावधानं तच्छ्रुणु।

### සිව්වන උදාහරණය

अत्रासनमलङ्कृतवन्तः सर्वे ते सस्नेहं संस्मृत्य यथाशक्तिः  संस्कृतभाषया वक्तुं प्रयत्नं करोमि। अद्याहं श्री लङ्कायां पारिवेणिकाध्यापनविषये कतिचित् मम चिन्ताः सूचयामि।

# කථාවසානයට උදාහරණ කිහිපයක්

**පළමු උදාහරණය**

सावधानेन श्रुतवन्तः सर्वे ते, मम भक्तिप्रणामं नियच्छामि। धन्यवादाः। स्वस्त्यस्तु।

**දෙවන උදාහරණය**

इदानीं मम कथा समाप्ता। सर्वे नित्यमेव यद् मयाद्य उक्तं तत् कदापि मा विस्मरत। शिवास्ते पन्थानः सन्तु।

**තෙවන උදාහරණය**

यथाशक्तिः त्वमपि संस्कृतभाषया किञ्चित् किञ्चित् वक्तुं लिखितुं च प्रयत्नं कुरु। सर्वदा इयं भाषा वर्धनाय प्रयत्नं करवाम। बहुशः धन्यवादाः। शिवा च सुन्दरा च भूयात् ते जीवनयात्रा।

**සිව්වන උදාහරණය**

सर्वे भद्राणि पश्यन्तु। मया यदभिहितं तत् सत्यं किल। सर्वे सदस्याः मम प्रणामं सादरेणैव प्रतिगृह्णन्तु। अद्य प्रभृति संस्कृतभाषाध्यनाय प्रयत्नं कुरुत। मङ्गलं ते। सदा जयलक्ष्मीर्भूयात्।

कामक्रोधौ हि सत्त्वानां मोक्षद्वारार्गलादुभौ।

කාමය හා ක්‍රෝධය සත්ත්වයන්ගේ විමුක්ති දොරටුවට බාධක වෙත්.

कामं न श्रेयसे कस्य संगमः पुण्यकर्मभिः।

පින්කම්වල යෙදීම කවරකුගේ යහපත පිණිස හේතු නොවේ ද?

किं किं न साधयति कल्पलतेव विद्या।

කප්රුකක් වැනි වූ ශාස්ත්‍රය කුමක් ලබා නොදේ ද?

१६
षोडशः पाठः।

# अनभ्यासे विषं विद्या।

(रचनापरिचयः। ०२)

## ආදර්ශ රචනා පුහුණුව

**ක්‍රියාකාරකම 16.1**

01. පහත සඳහන් ආදර්ශ රචනාව සංස්කෘතයට පරිවර්තනය කරන්න.

### අපේ ගම

අපේ ගම ........................... දිස්ත්‍රික්කයේ (පිහිටා) ඇත. ගමේ මිනිස්සු පන්සියයක් ජීවත් වෙති. ඇතැම් අය ගොවියෝ වෙති. රජයේ කාර්යාලවල සේවය කරන අය ද සිටිති. ගම කෙළවර කඳුවැටියක් ඇත. ඒ කන්දෙන් දිය ඇල්ලක් ගලා බසී. අවට ගම්වාසීහු දිනපතා එය නැරඹීමට පැමිණෙති. ගම මැදින් කුඩා ඇළක් ඇදී යයි. ඒ වතුරෙන් ගොවියෝ කුඹුරු වැඩ කරති. තරුණ අය එහි ජල ක්‍රීඩා කරති. විවිධ මත්ස්‍යයන් මෙහි දක්නට ලැබේ. ඇළට දකුණු පසින් පන්සල පිහිටා ඇත. පන්සලේ හාමුදුරුවරු පස්නමක් වැඩ සිටිති. පන්සලට වම් පසින් ගමේ පාසල පිහිටා ඇත. එහි ගැහැණු ළමයි ද පිරිමි ළමයි ද සිටිති. විදුහල්පතිතුමා අපේ ගමේ ම ජීවත් වෙයි. ළමයි හැමදාම පයින් පාසලට යති. ගමට ප්‍රවේශ වන තැන කඩමණ්ඩිය ඇත. ඒ අසල බස් නැවතුම ඇත. මිනිස්සු නගරයට බස් රථයෙන් යති.



**ක්‍රියාකාරකම 16.2**

01. පහත සඳහන් රචනාව කියවා සුදුසු පරිදි වාක්‍ය 10ක් සංස්කෘත භාෂාවෙන් ලියන්න.
02. එය සිංහලට පරිවර්තනය කරන්න.

## अहम् आम्रम् ।

अहं तव प्रियम् आम्रफलम् अस्मि । साम्प्रतम् अहं पक्वं मधुरं सरसं च भवामि । किन्तु पूर्वम् अहं बीजरूपेण उद्यानस्य एकस्मिन् कोणे अन्धकारपूर्णे गर्ते अवसम्। कश्चित् जनः मां बीजं जलेन असिञ्चत्। मह्यं खाद्यं च अयच्छत्। भोजनं खादित्वा जलं च पीत्वा अहं पुष्टः अभवम्। शनैः शनैः अङ्कुरः भूत्वा अहं बहिः आगच्छम्। पूर्वम् अहं लघुः पादपः आसम्। क्रमेण अहं दीर्घः घनः वृक्षः अभवम्। अधुना मम पत्राणि हरितानि छाया च शीतला भवति................................ ।

**ක්‍රියාකාරකම 16.3**

01. පහත රචනාව අධ්‍යයනය කර, වාක්‍ය 10ක් සුදුසු පරිදි රචනා කරන්න.

විද්‍යාවෙහි ආලය විද්‍යාලය වේ. ආලය ශබ්දය ගෙදර යනාර්ථය අඟවයි. පාසල් ගමේ ද නගරයේ ද ඇත. පාසලේ ගුරුවරු ද සිටිති. පාසලේ ගුරුවරියෝ ද සිටිති.

विद्यायाः आलयः विद्यालयः इति कथ्यते। आलय शब्दः गृहं बोधयति। विद्यालयाः ग्रामे अपि भवन्ति। विद्यालयाः नगरे अपि सन्ति। विद्यालये शिक्षिकाश्च भवन्ति। विद्यालये शिक्षकाश्च सन्ति।

**ක්‍රියාකාරකම 16.4**

01. පහත රචනා අධ්‍යයනය කර, නිර්මාණාත්මක වාක්‍ය 10ක් රචනා කරන්න.

## අම්මා - माता

අපේ ලෝකයේ සඳු මව්තොමෝ ය. හිරු පියතුමා ය. ඔවුන් දෙදෙනා අපේ දියුණුව සඳහා නිතර කෙළවරක් නැති දුක් උසුලත්. කවියෝ බහුල ව මව්සෙනෙහස වර්ණනා කරති. පිය සෙනෙහස එලෙස වර්ණනා නොකරනු ලැබේ.

अस्मिन् जगति माता तारापतिः पिता दिवाकरः च भवति। तौ अस्मान् अभिवृद्ध्यै नित्यमेव अपारकष्टं वहतः। बहवः कवयः प्रायेण मातृस्नेहं वर्णयन्ति। पितृप्रेमं तथा न वर्ण्यते।



## මද්‍යපානය - मद्यपानम्

මද්‍යපානය අද සමාජයෙහි ව්‍යසනයක් බව සියලුදෙනා ම දනිති. එහෙත් බොහෝ මිනිස්සු මත්පැන් බොති. මත්පැනෙහි ඇලුණු තැනැත්තො ම මත්පැන් බීමෙහි ආදීනව මැනවින් දනිති. එහෙත් ඔවුහු මත්පැන් බීම අත්හරින්නට උත්සාහ නොකරති. ඒ නිසා ඔවුහු මත්පැන් දූලෙහි වැටී අධික කටුක දුක් විඳිති. බොහෝ අය මත්පැනෙහි ආදීනව දන්නේ නමුත් මත්පැන් බොති. ඊට හේතුව මත්පැනෙහි ඇති ඇදගැනීමේ හැකියාව යැයි සිතමි.

मद्यपानम् अद्य समाजे व्यसनमिति सर्वेऽपि जानन्ति। किन्तु बहवः जनाः मद्यपानं कुर्वन्ति। मद्यपानसक्ताः एव केवलं मद्यपानस्य व्यसनं सम्यग् जानन्ति। तथा अपि ते मद्यपानं त्यक्तुम् उत्साहं न कुर्वन्ति। तस्मात् ते मद्यपानजाले पतित्वा अतीव कष्टम् अनुभवन्ति। बहवः मद्यसक्ताः हानिं जानन्नपि मध्यं पिबन्ति। तत्र हेतुं मद्यस्य आकर्षणशक्तिमिति मन्ये।

### ආදර්ශ රචනා

### सुखम्।

सर्वे जनाः संसारे सुखमिच्छन्ति। सुखं च धनेनैव प्राप्तुं शक्यते। अतो धनोपार्जनस्य महती आवश्यकता भवति। अद्यत्वे यत्र कुत्रचिदपि गच्छामः तत्र सर्वत्रैव धनस्य माहात्म्यं पश्यामः। धनेन विना न विद्योपार्जनं कर्तुं शक्यते, न जीविकानिर्वाहश्च भवति। सुखार्थं, परोपकारार्थं, त्यागार्थं, दानार्थं, विवाहार्थं, पुत्रादिसंरक्षणार्थं, गार्हस्थ्यसंचालनार्थं, भोजनार्थं, भवननिर्माणार्थं सर्वत्रैव धनस्यावश्यकता भवति। यस्य समीपं धनं नास्ति तस्य कश्चिदपि अभिलाषो न पूर्तिमेति। यस्य समीपे धनं भवति स एव सुखेन शेते। स एव संसारे कुलीनो विद्वान् गुणज्ञो दानी इति कथ्यते।

### विद्या धनम्।

सर्वेषु धनेषु विद्याधनम् एव उत्तमं धनं मन्यते। विद्यया एव जनाः जानन्ति यत् किं कर्तव्यम् अस्ति किं च अकर्तव्यम्। अनया एव ज्ञायते यत् किम् उचितम् अस्ति किं च अनुचितम्। विद्याधनेन एव वयं जानीमः यत् कः सन्मार्गः अस्ति कः च कुमार्गः। विद्यया एव मनुष्यः संसारे सम्मानं प्राप्नोति। विद्याधनाय वारं वारं नमः।

## सायह्नसमयः ।

सायङ्काले अस्ताचलं प्रति गच्छन् भगवान् सूर्यः चिन्तितः अभवत्- "मयि गते सम्पूर्णः संसारः अन्धकारे निमग्नः भविष्यति । लोकानां व्यवहारः कथं चलिष्यति ? मां विना सर्वे जीवाः दुःखम् अनुभविष्यन्ति ।" तस्य एतं भावं विज्ञाय एकः लघुदीपः सविनयं निवेदितवान् - शशभगवन्। अलं चिन्तया । यद्यपि मम प्रकाशः क्षीणः तथापि जनानां सेवायाम् अहं यथाशक्ति स्वजीवनं समर्पयिष्यामि, कार्याणि च साधायिष्यामि ।"

## क्रोधः ।

क्रोधः मनुष्यस्य महान् शत्रुः । क्रुद्धः जनः गुरून् अपि निन्दति, अपभाषणं करोति, ज्येष्ठनानां हितवचनानि अपि न श्रुणोति। तस्माद् वयं क्रोधे सावधानाः भवेम। यदि क्रोधः आगच्छति तदा तस्मिन् एव क्षणे मौनं धारणीयम्। मौनेन मनः शान्त भवति। वाणी अपि नियन्त्रिता भवति। ईदृशो काले किञ्चित् पुस्तकं गृहीत्वा पठेम। कोपात् सर्वदा आत्मानं रक्षेम।

## सुखिनो जनः ।

सर्वे जनाः सुखिनः भवितुम् इच्छन्ति। सुखस्य किं मूलम् ? उद्यमः, नियमः, संयमः एतानि त्रीणि यस्य मित्राणि स सर्वदा एव सुखी भवति। सः कदापि आलस्यं न करोति, जीवने सदाचारस्य नियमान् पालयति, विविधेषु आकर्षणेषु सक्तः न भवतिघ अतः सर्वदा सन्तुष्टः शान्तिम् अनुभवति, सुखं च लभते। नूनं सुखस्य साधनानि अस्माकं हस्ते एव विराजन्ते।

## अहं द्रुमः अस्मि ।

अहम् एकः छिन्नः द्रुमः अस्मि। ह्यः वने एकः नरः आगच्छत्। सः काष्ठाय मम शरीरम् अछिन्नत्। छेदनेन मे शरीरे अनेके व्रणाः जाताः। छुरिकायाः प्रहारेण शरीराद् अश्रुरूपाः जलबिन्दवः अपतन्। अकथनीया मम पीडा। हृदयं विदीर्णं जातम्। अश्रुभिः कण्ठः अवरुद्धः। मम अन्तकालः समीपे एव तिष्ठति। काष्ठानि एकत्रीकृत्य स तु अगच्छत्। परं कोऽस्ति अत्र वृथाकथाश्रवणाय ? वृक्षान् छित्वा नरः प्रकृतिमातुः अङ्गानि नाशयति। इन्धनाय, कर्गदपत्राय, भवननिर्माणाय मम काष्ठस्य प्रयोगः भवति। किन्तु कुतः मे पत्राणि, पुष्पाणि कुतः च रोगनिवारणाय औषधयः ? निराश्रिताः भविष्यन्ति आश्रिताः खगाः कीटपतङ्गाश्च। पन्थानः अपि छायाहीनाः भविष्यन्ति। आतपेन तप्तः श्रान्तः पथिकः अधुना कुत्र गमिष्यति ? मम जीवने पुनः वसन्ततुः व आगमिष्यति।

(अभ्यासपुस्तकात्)

## प्रातः कालः।

अहो रमणीया प्रातः कालस्य वेला। सूर्यः उदयाचले अरुणाकिरणैः उदेति। उपवने जनाः भ्रमन्ति व्यायामं च कुर्वन्ति। आकाशे खगाः कलरवं कुर्वन्ति। वृद्धाः प्रबुद्धाः सन्ति। युवकाः युवतयः चापि प्रबुद्धाः सन्ति। बालाः विद्यालयं प्रति गच्छन्ति। अध्यापकाः अध्यापिकाश्च विद्यालयं प्रति तीव्रगत्या गच्छन्तः दृश्यन्ते। अद्यापकान् अध्यापिकांश्च बालकान् बालिकाश्च त्यक्तुं विद्यालयेभ्यः बहिः कार्यानानां पङ्क्तिः अस्ति। कृषकाः क्षेत्रं प्रति गच्छन्ति। सर्वे जनाः स्वकार्येषु लग्नाः सन्ति। मन्दः समीरः वहति। सर्वत्र आनन्दमयं वातावरणम् अस्ति। प्रातः कालस्य समयः सर्वेषु जनेषु नव-जीवनं सञ्चारयति। तापसाः आश्रमेषु यजन्ति। भक्ताः देवालयं गच्छन्ति। शिशवः विश्रामस्य पश्चात् प्रसन्नाः भवन्ति। सरणिषु जनाः इतः तत आगच्छन्ति। मन्दिरेषु शंखनादस्य मधुरः ध्वनिः श्रूयते।

(अभ्यासपुस्तकात्)

## अंगुलीमालः ।



पूर्वं कोसलदेशे कोसलो नाम नरेन्द्रः आसीत्। स भगवतः शाक्यमुनीन्द्रस्य अनुगामिको भवति स्म। तस्य राजसभायां पुरोहितस्यैकः पुत्रोऽभवत्। तस्य पुत्रोत्पत्तिसमये सर्वाणि शस्त्राणि दिप्तानि। तद् अशुभनिमित्तमिति ज्योतिश्शास्त्रज्ञो निर्दिष्टवान्। स भविष्यति काले चोरो भूत्वा मनुष्यघातको भविष्यतीति ज्योतिश उक्तवान्। पुरोहितः तच्छ्रुत्वा पुत्रं हन्तुं चिन्तयामास। तत् प्रवृत्तं श्रुत्वा राजा तं समाश्वस्य -हे भवान् ।भवतः पुत्रस्य विद्याभ्याससमयेऽहिंसाविषयैव विशेषशिक्षणं दातुं व्यवस्थां कुर्यादित्यवदत्। पुरोहितोऽपि तथैव कर्तुं निश्चित्य पुत्रस्य अहिंसक इत्येव नामकरणञ्च कृतवान्।

अहिंसकः सर्वाणि शास्त्राणि सम्यग् अधीतवान्। कालेन स गुरोः प्रियतमः शिष्योऽभवत्। अहिंसकस्य सहपाठिन ईर्ष्यया तमपकर्तुं कूटमुपायं रचितवन्तः। तैः प्रेरितो गुरुरहिंसकमुक्तवान्। - हे छात्र। त्वमेवास्मिन् गुरुकुले चतुरतमः शिष्यो भवसि। तस्मात् त्वयैकं गुरोपहारं कर्तव्यम्। सहस्रान् मनुष्यान् हत्वा तं पूजोपहारं करणीयम्।

अंगुलीमालो एतत् कूटोपायं न ज्ञातवान्। गुरुभक्त्या स पूजां कर्तुं मनुष्यान् हन्तुमारभत। कालेन सोऽनेकाः मनुष्याः हत्वा तेषां अंगुलीभिः मालां कृत्वा स्वयं धारयति स्म। स -अंगुलीमालः- इति चिरप्रसिद्धोऽभवत्। । वर्धमानमंगुलीमालस्य क्रूरत्वं श्रुत्वा तं सजीवं ग्रहीतुं कोसलो राजा राजपुरुषान् प्रेषितवान्। किन्त्वहिंसकः तान् सर्वान् संहृतवान्।

अंगुलीमालः जनसंहारं कृत्वा एकोनसहस्रं अंगुलीः सञ्चितवान् शीघ्रमेव। राज्ञा कोसलेन स्वयमेव गत्वा तं हन्तुं सर्वाणि कार्याणि योजितानि। तं प्रवृत्तं श्रुत्वांगुलीमालस्य माता- स्वपुत्ररक्षणाय महाविपिनं गतवती। अंगुलीमालः महाविपिने इतस्ततः सञ्चरन्तीं एकां वृद्धीं दृष्टवान्। किन्तु सा तस्य मातेति ज्ञातुं सोऽसमर्थोऽभूत्। स तां मारयितुमनुगतवान् रहसि।

अस्माकं शाक्यमुनीन्द्रोऽंगुलीमालस्य धर्मज्ञानावबोधशक्तिं दिव्यचक्षुषा दृष्टवान्। चेत् यो मातृघातकः भवेत् तस्य मार्गज्ञानलाभहानीं भवति । तस्माद् भगवान् बुद्धः महविपिनं गतवान्। भगवान् अंगुलीमालस्य पुरतो मार्गे गच्छन् आसीत्। तं दृष्ट्वा अंगुलीमालः - एनं हत्वा अंगुलीं छित्-वा मालायां संकलयामि - इति चिन्तितवान्। एवं निश्चित्य स बुद्धमनुगतवान्। अनुधावितवाञ्च । सम्यक्सम्बुद्धो यथापूर्वं मार्गे गच्छन्नेवासीत्।

अंगुलीमालः सर्वथा बुद्धमाक्रान्तुं प्रायतत- प्रायत्नोत् - किन्त्वसमर्थोऽभवत्। श्रान्तः स बुद्धम् - तिष्ठ तिष्ठ रे अलं गमनेन। अहं त्वं हत्वा तवांगुल्या सहस्रांगुलीमालां कृत्वा धारयामीत्युक्तवान्। तच्छ्रुत्वा - अहं नैव गच्छामि बाल। अत्रैव स्थितोऽस्मि। भवतो मन एव पथिक इव लक्ष्यहीनं सञ्चरति। यदि मम हननेन तव मनः शान्तिः प्राप्स्यति - तर्हि मारयितु तावत् माम्। अहं भवतः कार्यविघ्नं नैव करोमि - इति शान्तस्वरेणावदत्।

तत् शान्तवचनं श्रुत्वा व्याकूलचित्तोऽहिंसकः ज्ञानोदयं प्राप्तवान्। मनुष्यः हिंसामर्गम् अनुसरति चेत् सर्वदा मनोवेदनाम् अशान्तिं चैव प्राप्नोति - इति सोऽचिन्तयत्। पश्चात् अहिंसकः भगवान् गौतम-बुद्धस्य शरणं गतः।

## पिता ।

अस्मिन् जगति माता तारापतिः पिता दिवाकरः च भवति तौ अस्मान् अभिवृद्ध्यै नित्यमेव अपारकष्टं वहतः। बहवः कवयः प्रायेण मातृप्रेमं वर्णयन्ति। पितृप्रेमं तथा न वर्ण्यन्ते। किन्तु तयोः स्नेहं सम्यग् वर्णयितुं के शक्नुवन्ति। अशक्नुवन्त्येव इति मन्ये।

पुत्राणां समृद्धिं दृष्ट्वा अस्मिन् लोके यो या हृद्या तुष्यन्ति सः पिता वा सा माता वा भवति। तथैव पुत्राः उपद्रवेषु सम्प्राप्ते यः हृद्या शोचति सः पिता वा सा माता एव भवति। एवं माता पिता च साम्यरूपेण स्वकीयपुत्रदारेषु स्नेहं कुर्वन्ति। तयोः विसदृशं कदापि न दृश्यते।

प्रायेण मातरः दाराणां सुखदुःखेषु सहसा रोदन्ति। किन्तु पितरः तथा सहसा न रोदन्ति। तेषां वक्रे अश्रुणि न दृश्यन्ते। किन्तु ते हृद्भिः अतीव शोचन्ति। तस्मादेव अन्तर्बाष्पं इत्यादि

मेघदूतकाव्ये कालिदास-महकविना वर्णितम्।

पितरः पुत्रदारपोषणाय दिवारात्रौ महताक्लेशं अनुभवन्ति। अस्माकं शास्तुः पिता शुद्धोदन नामासीत्। सिद्धार्थकुमारस्य माता जन्मात् सप्ताहभ्यन्तरे दिवंगतवती। ततः शुद्धोदन राजा महता स्नेहेन तं पुष्ठवान्। कदापि मातुः स्नेहस्य ऊनत्वं विन्दितुमवकाशं न दत्तवान्। रम्यसुरम्यसुभा इति रमणीयाः शोभनीयाः प्रासादाः निर्मिताः। किन्तु सिद्धार्थः कुमारः नवविंशतिवर्षे अभिनिष्क्रमणं कृतवान्। षट्वर्षाः दुष्करक्रियां कृत्वा वैशाखपूर्णदिवसे सम्यक्सम्बुद्धोऽभूत्।

एकदा शाक्यमुनीन्द्रः कपिलवस्तुपुरं गतवान्। गत्वा शुद्धोदन नरेन्द्रस्य निमन्त्रणेन तस्य प्रासादे दानं भुक्तवान्। ततः पुनः गन्तुमारब्धवान्। तस्मिन् समये यशोधरा देवी तस्याः पुत्रं राहुलम् आमन्त्रय बुद्धं दर्शयित्वा हे पुत्र सः तव पिता गत्वा दायादं गृहाण इति प्रेषिता। सः राहुलः अपि बुद्धस्य सन्तिकं आगत्य तेन सार्धं विहारं गतवान्। ततः बुद्धनियमेन शारिपुत्रस्थविरेण राहुलकुमारः प्रव्रजितः।

तं प्रवृत्तिं श्रुत्वा शुद्धोदन राजा अतीव शोचितमग्नः सहसा विहारं गतवान्। बुद्धस्य अभिमुखे रोदमानः नरेन्द्रः एवमवदत्। लोकनाथ त्वयि अभिनिष्कृते तं दुःखं सहिष्णुं अशक्तोऽस्मि। अहं नन्दं वीक्ष्य किञ्चित् शान्तिं अनुभूतवान्। किन्तु त्वया नन्दमपि प्रव्रजितोऽसि। तस्मिन् गते अहं राहुल कु मारं वीक्ष्य शान्तीमलब्ध्वान्। त्वं तमपि आदाय गतोऽसि।इदानीं मे कस्य शरणम्। अहं कथं इदं दुःखं विरहाग्निं धारयामि वहामि च। लोकनाथ पुत्रस्नेहवियोगजं दुःखं अतीव कष्टं कटुकञ्च। तस्मात् मातापित्रोः अनुमतिः नोपलभ्य पुत्राः न प्रव्रजन्तु इति याचितवान्। शाक्यमुनीन्द्रोऽपि पितुः तम् आयाचनं संगृह्य विनयप्रज्ञप्तिं कृतवान्। एवं शाक्यमुनीन्द्रेण अपि पितुः वचनस्य गौरवं कृतः।

तथा शुद्धोदनराजिनि व्याधिदुःखेनपीडिते सति बुद्धपुत्रः कपिलवस्तुं गत्वा स्वहस्तेन पितुः शीर्षं सादरेण परिमृश्य धर्मं देशितवान्। तं धर्मं श्रुत्वा शुद्धोदन राजा परिनिवृतवान्। एवं बुद्धपुत्रेण स्वपितरमपि अनुग्रहं कृतवान्।

## मम मातृभूमिः ।

मम मातृभूमिः भारतीयसमुद्रमध्ये सुप्रतिष्ठति।तस्मात् तत् भारतीयमुक्ताफलम् इति व्यवह्नीयते। जगतः सर्वत्र तत् रमणीयं द्वीपम् इति कीर्तितम्। पुराणे लङ्का। ताम्रपर्णि। सीलेन् इत्यादिना नाम्ना अपि तं विश्रुतमभूत्। लङ्कायां उत्तरदिशायाम् यापन नाम अर्धद्वीपम् अस्ति। तत्र पुरा एलार नाम नरेन्द्रः प्रतिवसति स्म। सः द्वाचत्वारिंशत् वर्षाः तस्मिन् अर्धद्वीपे राज्यमकरोत्। द्रविडः अपि तेन साधारणधर्मेण राज्यं कृतमिति कथ्यते। तस्मिन् काले दक्षिणदिशायां काकवण्णतिस्स नाम सिहलदेशीय राजा राज्यभारान् ऊढवान्। तस्य भार्या विहारमहादेवी आसीत्। तेषाम् तिष्य गामिणी

नाम पुत्रौ स्थितवन्तौ। तेषु ज्येष्ठः गामिणि नाम। पश्चात्काले सः एलार नाम द्रविड राज्ञा सार्धं संग्रामं कृत्वा लङ्काद्वीपं एकच्छत्रमकरोत्।

लङ्कायां द्वाविंशति प्रदेशानि सन्ति। मध्यमप्रदेशे सेण्कडगल नाम पुराणनगरं दृश्यते। तस्मिन् नगरे दाठाधातुप्रासादं अस्ति। इदं लङ्कायाम् अवसानराजधानिं भवति। पुरा सेण्कडगलनगरं इति विश्रुतम्। किन्तु वर्तमाने महनुवर इति तं प्रसिद्धम् । तस्य नगरस्य नातिदूरे महावालुका नदी स्यन्दति सागरं प्रति। सा नदी समन्तकूठात् प्रभवति। महावालुका। वडवे। कल्याणी। कलु इति प्रधानाः चतस्रः गंगाः लङ्कायां सन्ति। तासु नदीषु महावालुका प्रमुखा भवति। तस्याः नद्याः नातिदूरे पेरादेनिय नाम उद्भिदोद्यानमपि अस्ति।

लङ्कायां पश्चिमदिशायां कोलम्ब नाम संवर्धितनगरं अस्ति। तत् तस्यां प्रधानवाणिज्यनगरं भवति। लङ्कायां मुख्यानि त्रीणि तीर्थाणि सन्ति। तेषु कोलम्ब तीर्थं प्रामुख्यं भवति। लङ्कायां पूर्वदिशायां त्रिकुणामल नाम तीर्थम् अस्ति। तत् अतीते गोकण्ण नाम्ना विश्रुतमभूत्। समन्तकूठे श्री शाक्यमुनीन्द्रस्य श्री पादलाञ्छनं दृश्यते। बहवः जनाः तं वन्दनाय समन्तकूठं तुष्टमनसा गच्छन्ति। तेषु बहवः बौद्धाः भवन्ति। केचित् अन्यागमिकाः अपि सन्ति।

लङ्कायां बहूनि तुङ्गपर्वतानि सन्ति। तेषु पिदुरुतलागल तुङ्गतमं पर्वतं भवति। तेभ्यः पर्वतेभ्यः बहवः नद्याः बहवः अम्बुधाराः अपि स्यन्दन्ति। तासां जलेन मनुष्याः तेषां क्षेत्रकर्माणि सुखेन कुर्वन्ति।
मम मातृभूमौ सर्वाणि भोगानि प्ररुह्यन्ते। तेषु भोगेषु नारिकेल। रबर्। चाया पत्राणि मुख्यानि भोगानि भवन्ति। तानि भोगानि विदेशान् अपनयन्ति। तस्मात् बहूनि मूल्यानि वयम् अर्जयामः।

अस्मिन् देशे सिंहल। द्रविड। मुस्लिं।बर्गर् नाम जातयः वसन्ति। ते बौद्ध। हिन्दु । मुस्लिम् आदि विविधागमेषु अनुगामिकाः भवन्ति। तेषु बौद्धाः बहवः भवन्ति। लङ्कायां बहूनि बौद्धसिद्धस्थानि दृश्यन्ते। पौराणनगरेषु विशालाः चैत्याः सन्ति। अनुराधपुरे स्वर्णमाली नाम विशालः चैत्यः अस्ति। तत् दुटुगेमुणु राज्ञा कृतम्। तस्य उत्तरदिशायां श्री महाबोधिशाखा दृश्यते। महामहिन्दक्षीणाश्रवस्य स्वस्रा संघमित्ता भिक्षुण्या आनीतम्। तया सार्धं अष्टदशशिल्पकुलानि च लङ्काद्वीपं आगतवन्तः। जेतवन नाम चैत्यः महासेन् नाम गोठाभयस्य राजपुत्रेण कृतम्। तस्य समीपे अभयगिरि नाम विशालं चैत्यम् अस्ति। तत् वट्टगामिणी नाम राज्ञा कृतम्। सः तिस्स राज्ञः पुत्रः भवति स्म। लङ्कायां कल्याणि नाम पूजाभूमिं किरिवेहेर नाम पूजाभूमिं नागदीप नाम पूजाभूमिं चादि बहूनि पूज्यस्थानि दृश्यन्ते।

बहुविघ्नास्तु सदा कल्याणसिद्धयः।

යහපත සිදු කිරීමේ දී බොහෝ උවදුරු ඇත.

बुद्धिर्नाम च सर्वत्र मुख्यं मित्रं न पौरुषम्।

පෞරුෂයට වඩා බුද්ධිය සියලු තැන ප්‍රධාන මිතුරා ය.

भवितव्यं भवत्येव कर्मणामीदृशी गतिः।

සිදුවිය යුත්ත සිදුවේ. කර්මයන්ගේ ස්වභාවය එබඳු ය.

१७
सप्तदशः पाठः।

# कवयः किं न पश्यन्ति।
(साहित्यज्ञानम्।)

## හදන්තාශ්වඝෝෂ හිමි

සුන්දරී හා නන්ද අතර ඇතිවන සොඳුරු ප්‍රේමය ප්‍රධාන වස්තු විෂය කරගත් සෞන්දරනන්ද මහාකාව්‍යය හදන්තාශ්වඝෝෂ හිමියන්ගේ අග්‍රගණ්‍ය කාව්‍යය නිර්මාණයකි. සංස්කෘත මහාකාව්‍යය සම්ප්‍රදායේ පුරෝගාමියා වන උන්වහන්සේ බුද්ධචරිත මහාකාව්‍යය හැරුණුවිට ශාරිපුත්‍රප්‍රකරණ නමින් දෘශ්‍යකාව්‍යයක් ද රචනා කළහ. කාශ්මීරයෙහි කුණ්ඩලවන විහාරයෙහි පැවැත් වූ සිව්වන නොහොත් ප්‍රථම මහායානික සංගායනාවෙහි විභාෂා ග්‍රන්ථ කර්තෘ මණ්ඩලයෙහි ප්‍රධානත්වය දරන ලද්දේ ද අශ්වඝෝෂ මාහිමියන් ය. **ලලිතවිස්තරය, මහායාන ශ්‍රද්ධොත්පාද, සූත්‍රාලංකාරයාදි** මහායානික ධර්මග්‍රන්ථයන් ද උන්වහන්සේගේ සාහිත්‍යකරණයෙහි ප්‍රකට, විශිෂ්ට සේවාවන් ය. උපතින් බ්‍රාහ්මණවංශිකයකු වූ උන්වහන්සේගේ ජන්මග්‍රාමය **සාකේත නුවර** විය. මව **සුවර්ණාක්ෂි** නම් වූවා ය. පූර්ණයශස් හා පාර්ශ්ව යනාදි දාර්ශනික විද්වතුන්ගේ සදාශ්‍රයෙන් බුදුදහම වැළඳ ගෙන ඇත. කුමාරජීව විසින් චීන බසට පරිවර්තනය කරන ලද අශ්වඝෝෂ චරිතාපදානයට අනුව අශ්වඝෝෂපාදයෝ මුලින් බෞද්ධ භික්ෂූන් වහන්සේලාට අභියෝග කළ ත්‍රිවේද පාරප්‍රාප්ත බ්‍රාහ්මණයෙක් විය. උතුරු ඉන්දියාවෙහි විසූ පාර්ශ්ව මහ ස්ථවිරයන් මොහු හා වාද කිරීමට පැමිණ ඇත. අශ්වඝෝෂයන් බුදුදහම කෙරෙහි නැඹුරුවීමෙන් මහදර්ථයක් සිදුවන බව දැනගෙන පාර්ශ්ව තෙරුන්, මොහුගේ අභියෝගය භාරගත්හ. දින 07 කින් රජමැති ඇමැති රටවැසියා ඉදිරියෙහි වාදය සංවිධානය කළ අතර පරාජිතයා ජයග්‍රාහයකයාගේ අතවැසියකු වීම ප්‍රධාන ගිවිසුම විය. අවසානයේ දී වාදයෙන් පරදින අශ්වඝෝෂයෝ, පාර්ශ්ව මහ ස්ථවිරයන්ගේ අතවැසියෙක් වූහ. බ්‍රාහ්මණයකු වශයෙන් චතුර්වේදාදි මූලාශ්‍රය පිළිබඳ ලද විදග්ධභාවයත්, යථෝක්ත විද්වදාශ්‍රය මගිනුත්, නිසර්ගසිද්ධ ප්‍රතිභාපූර්ණ කවිශක්තියත් සම්මිශ්‍රිත ධර්ම සන්නිවේදනය උන්වහන්සේගේ සාහිත්‍යකරණයෙහි සුවිශේෂී ලක්ෂණයකි. විවිධ ක්ෂේත්‍රයන් පිළිබඳ කුශාග්‍ර බුද්ධිමතකු වූ බැවින් ම හදන්ත, ගුරු, ආචාර්යාදි ගෞරවාභිධානයන්ගෙන් විද්වජ්ජන සම්භාවනාවට පාත්‍ර වූ එතුමෝ සංස්කෘත කාව්‍ය ක්ෂේත්‍රයට හා පශ්චාත්තන නිර්මාණකරුවනට අභිනව කාව්‍ය මාර්ගයක්, සම්ප්‍රදායයක් හෙළිපෙහෙළි කළ අග්‍රගණ්‍ය නිර්මාණකරුවෙක් මෙන් ම ප්‍රාඥයෙක් වූහ.

"ආර්ය සුවර්ණාක්ෂි පුත්‍රස්‍ය සාකෙතකස්‍ය භික්ෂොරාචාර්ය්‍ය හදන්තාශ්වඝෝෂස්‍ය මහාකවේර්මහාවාදිනඃ කෘතිරියම්"

ඡන්දසට හෙවත් සංස්කෘත භාෂාවට බුද්ධදේශනා පරිවර්තනය කිරීමට බුදුරජාණන් වහන්සේගේ අනුමැතිය නො ලැබුණි. එහෙත් අශ්වඝෝෂ මාහිමියන් ග්‍රන්ථකරණයෙහි ව්‍යාවෘතවනුයේ සංස්කෘත භාෂා මාධ්‍යයෙනි. බුද්ධචරිත මහාකාව්‍යය මෙන් ම සෞන්දරනන්ද

මහාකාව්‍යය ද තදනුබද්ධ ප්‍රවෘත්ති කථනය උදෙසා ම රචනා වූ කාව්‍ය නිර්මාණ නොවේ. තද් ග්‍රන්ථයන්හි වැඩි අවකාශයක් වෙන් වී ඇත්තේ, ධර්ම සන්නිවේදනයටයි. ධර්මය ඍජු ව සම්ප්‍රේෂණය කිරීමට වඩා, සෞන්දර්යාත්මක ලීලාවක් ඒ සඳහා උපයුක්ත කරගැනීම උන්වහන්සේ භාවිත කළ සාර්ථක උපක්‍රමයකි. තික්ත බෙහතක් මධුවෙහි ගල්වා ආතුරයකුට පොවන්නා සේ, සම්බුද්ධ භාෂිතයෙහි ගම්භීරතර දාර්ශනික සිද්ධාන්ත නම් ඖෂධය කවිය නම් මිහිරෙහි ඔබා, කෙලෙස් පරිතාපයෙන් ආතුර ජනයා උදෙසා ලබාදීම උන්වහන්සේගේ මුඛ්‍යාධ්‍යාශය වූහ. එය මනා ව සාර්ථක වූ ක්‍රමයක් විය.

සංස්කෘතය තත්කාලීන සමාජයෙහි කුලීනයන් විසින් ව්‍යවහාර කළ ශුද්ධෝත්කෘෂ්ට භාෂාවක් විය. සමකාලීන භාරතයෙහි බ්‍රාහ්මණ වංශික භාෂාව වූයේ මෙය යි. ක්‍ෂත්‍රිය හා වෛශ්‍ය වර්ණික පුරුෂ පාර්ශ්වයට ද සංස්කෘතය ව්‍යවහාර කිරීමේ අවකාශය තිබිණි. ශුද්‍ර කුලයේ සියලු දෙනාට ම ද සාර්ववර්ණික සර්වස්ත්‍රීන්ට ද එය සපුරා තහනම් විය. බුදුරජාණන්වහන්සේ ස්වකීය ධර්මය ඡන්දසට නැගීමට අනුමැතිය නොදුන්නේ යථෝක්ත භාෂා ප්‍රතිපත්තිය නිසා විය හැකි ය.

කෙසේ වෙතත්, සමස්ත අධ්‍යයන, අධ්‍යාපන ක්‍රියාවලියෙහි ම ඒකාධිකාරිත්‍ව ය බ්‍රාහ්මණ වංශිකයන් සතු විය. අශ්වඝෝෂ මාහිමියන්ට ඔවුන් වෙත බුද්ධධර්මයෙහි සාරය සන්නිවේදනය කිරීමේ අත්‍යාවශ්‍යතා ව තිබූ බව පෙනේ. උගත් තරුණ බ්‍රාහ්මණයන් උන්වහන්සේගේ පාඨක ඉලක්කය වූහ. ප්‍රේමය, ස්නේහය ආත්මගත සොඳුරු පුවතක් සෞන්දරනන්ද මහාකාව්‍යයෙහි ප්‍රධාන වස්තුවිෂය කරගැනීමෙන් ඒ වග වඩාත් විශද වේ. කෘතියෙහි වැඩි අවකාශයක් ගැඹුරු ධර්ම කරුණු සාකච්ඡා කිරීමට වෙන් කිරීමෙන් ද එය තවදුරටත් ප්‍රත්‍යක්‍ෂ වේ.

භදන්තාශ්වඝෝෂ මාහිමියන් මහාකාව්‍යකරණයෙහි නියුක්ත වූ සමය වන විට කාව්‍ය විචාර සිද්ධාන්ත ග්‍රන්ථ පවා රචනා වී නො තිබිණි. ක්‍රි:ව: 06 වන ශතවර්ෂයෙන් පසුව දණ්ඩින්, භාමාභාදි කාව්‍යවිචාරකයෝ ස්වකීය කාව්‍යවිචාර සෛද්ධාන්තික කෘති බිහි කළහ. ඔවුහු එම කාව්‍යවිචාර සංකල්ප ඉදිරිපත් කරන ලද්දේ භදන්තාශ්වඝෝෂ මාහිමියන්ගේ සාහිත්‍යික නිර්මාණ හා රාමායණාදි පූර්වතර කාව්‍යනිර්මාණ පිළිබඳ අධ්‍යයනයෙනි. සෞන්දරනන්ද මහාකාව්‍යයෙහි සර්ග සියල්ල 18 කි. මහාවග්ග හා නිදාන කථා යන බෞද්ධ ග්‍රන්ථද්වයෙහි ම හමුවන සුන්දරී - නන්ද වෘත්තාන්තය මෙහි ප්‍රධාන වස්තු විෂය වේ.

| | |
|---|---|
| 1. කපිලවස්තු පුර වැනුම | 2. රාජවර්ණනාව |
| 3. නන්ද කුමරුගේ උත්පත්තිය | 4. සුන්දරී-නන්ද ප්‍රේමය |
| 5. නන්ද කුමරුගේ ප්‍රව්‍රජ්‍යාව | 6. සුන්දරී විලාපය |
| 7. නන්ද කුමරු ප්‍රව්‍රජ්‍යාව ප්‍රතික්ෂේප කිරීම | 8. ස්ත්‍රීන්ගේ චපලගති |
| 9. ප්‍රේමය නිසා ඇතිවන දුක්ගැහැට | 10. අප්සරාවන් පෙන්වීම |
| 11. අප්සරාවන් ලැබීමේ ප්‍රාර්ථනාව | 12-18 නිර්වාණගාමී ප්‍රතිපදාව |

යනාදි ලෙස මේ මහාකාව්‍යයෙහි වස්තු විෂය පෙළ ගස්වා ඇත.

බුද්ධචරිත මහාකාව්‍යයෙහි කර්තෘවරයා ද භදන්තාශ්වඝෝෂ මාහිමියන් ය. ඒ බව, ''**ඉති ශ්‍රී මහා මණ්ඩලේශ්වරමන්ත්‍ර්‍යාශ්වඝෝෂකෘතෞ ශ්‍රී බුද්ධචරිතමහාකව්‍යෙ**'' යන උද්ධෘතයෙන් සනාථ වේ. ශ්‍රීමත් ගෞතම ශාක්‍යමුනීන්ද්‍රයන් වහන්සේගේ ජීවනචරිතය බුද්ධචරිතයෙහි වස්තුවිෂය වේ. චීන හා ටිබෙට් පරිවර්තනයන්හි සර්ග 28ක් දක්නට ලැබේ.

එහෙත් දැනට සංස්කෘත භාෂාවෙන් හමු වී ඇති සර්ග සංඛ්‍යාව 13කි. සංස්කෘත පිටපතේ සිද්ධාර්ථ කුමාරෝත්පත්තියෙන් ආරම්භ වී, මාරපරාජය පිළිබඳ විස්තරයෙන් සමාප්ත වේ. උතුම් ශාස්තෘවරයෙක් වූ ශ්‍රීමත් බුද්ධචරිතය කාව්‍යාත්මක ව වර්ණනා කිරීම සුකර කාර්යයක් නොවේ. පොදුජන විඥානයෙහි භක්තියට, ශ්‍රද්ධාවට හානියක් නොවන පරිදි, කථා වස්තුව සකස් කර ගත යුතු වේ. එසේ ම, ආලංකාරියකයන් නිර්දේශිත රීතින් ද උල්ලංඝණය නොකළ යුතු වේ. අශ්වඝෝෂපාදයෝ විචාරපූර්වක යථාර්ථවාදී බුද්ධචරිතාපදානයක් පාඨක මනසෙහි නිර්මාණය කළහ. සැබවින් ම උන්වහන්සේගේ අභිප්‍රාය වූයේ උත්තරීතර මනුෂ්‍ය ගුණෝපලක්ෂිත මිනිසෙකු වශයෙන් බුද්ධචරිතය ස්ථාපිත කිරීමයි. බුද්ධචරිත මහාකාව්‍යයෙහි සර්ගයෙන් සර්ගය මනාව පරීක්ෂා කිරීමේ දී ඒ වග මනාව පසක් වේ. බුද්ධචරිත මහාකාව්‍යයෙහි යමක, උපමා, රූපක, උත්ප්‍රේක්ෂාදි අලංකාර හෘදයංගම ලෙස භාවිත කර ඇති අතර, ප්‍රධාන රසය ශාන්ත රසය වේ. අශ්වඝෝෂ මාහිමියන් ප්‍රතිභාපූර්ණ කවියෙකි. නිසර්ගසිද්ධ කාව්‍යකෞෂල්‍යය උන්වහන්සේගේ තෙළි තුඩින් නිමවුණු සෑම කවි සිතුවමක ම තැවරී ඇත.

## මහාකවි කාලිදාස

මහාකවි කාලිදාස ක්‍රි:ව: 04 හා 05 අතර කාලයෙහි භාරතයේ විසූ චිරප්‍රසිද්ධ කවීන්ද්‍රයෙකි. කාලිදාසයන්ගේ ජන්ම භූමිය හිමාලය අසල උජ්ජයිනී හෝ කාලිංග දේශය බවට මත පවතී. කුමාරසම්භව මහාකාව්‍යයෙහි හිමාලය පිළිබඳ වර්ණනා හා මේඝදූතයෙහි උජ්ජයිනි නුවර ප්‍රේමය පිළිබඳ සඳහන් වීම මෙන් ම, කාලිංග දේශයෙහි අධිරාජයා වූ හේමාංගද පිළිබඳ රඝුවංශයෙහි විශේෂයෙන් වර්ණනා කිරීම ද මේ මතවාදයනට බලපා ඇත. ලක්ෂ්මී ධාර්කල්ල පඬිතුමා, ඔහුගේ The birth place of kālidāsa (1926), ග්‍රන්ථයෙහි, කාලිදාස මහාකවියා කාශ්මීරයෙහි ඉපිද, දකුණු දිශාවට සංක්‍රමණය වූ බව සඳහන් කර ඇත.

ජනප්‍රවාදයන්ට අනුව කාලිදාසයන් ජීවිතයේ මුල් අවධියෙහි දී අඥානයකු විය. ඔහු විසින් විවාහාපේක්ෂිත කාන්තාව ''**අස්ති කශ්චිද්වාග්විශේෂඃ**'' යනුවෙන් ඇසූ පැණයට පිළිතුරු දීමට ඔහු අපොහොසත් විය. පසුව දාසයකු ලෙස කාලිදෙවඟනට දෘඪභක්ත්‍යාදරයෙන් පූජාවිධි පවත්වා ඇගේ ප්‍රසාදයෙන් ඥානවන්තයකු වූ බව ද එක්තරා ජනශ්‍රැතියක එයි. අනතුරුව කාලිදාසයෝ සිය බිරිඳගේ පැණයට පිළිතුරු ලබාදීම් වස් අස්ති යන ශබ්දයෙන් ආරම්භ වන කුමාරසම්භව මහාකාව්‍යය ද, **කශ්චිත්** යන පදයෙන් ආරම්භ වන මේඝදූත නම් ඛණ්ඩකාව්‍යය ද, **වාග්** යන වචනයෙන් ආරම්භ වන රඝුවංශ මහාකාව්‍යය ද රචනා කළහ. පසුව, තවත් ජනප්‍රවාදයකට අනුව, මොහු කුමාරදාස රාජෝද්‍යානයේ දී ලංකාවට පැමිණ ඇති අතර ලංකාවේ දී ජීවිතක්ෂයට පත් වී ඇත.

සරස්වතී දේවිය, මහාබ්‍රහ්මන්ගේ ධර්මපත්නියයි. සාහිත්‍යය, කලාවන්ට අධිපති දිව්‍යාංගනාවයි. වරක් දණ්ඩී හා කාලිදාස දෙදෙනා සරස්වතී දේවිය හමුවීමට ගොස් ඇත. දෙදෙනාගෙන් කවරෙක් ශ්‍රේෂ්ඨ කවියා වන්නේ දැයි සරස්වතී දෙවඟනගෙන් විමසා ඇත. එවිට ඇය, "**කවීර්දණ්ඩිඃ කවීර්දණ්ඩිඃ කවීර්දණ්ඩිඃ න සංශයඃ**" යනුවෙන් පවසා ඇත. ඉන් කුපිත වූ කාලිදාස, කවියා දණ්ඩි නම් මා කවරෙක් ද? යනුවෙන් විමසා ඇත. එවිට ඇය

"ත්වමෙවාහම්" "ඔබ යනු මම ම යි" යනුවෙන් පිළිතුරු දී ඇත. මෙලෙස කාලිදාසයන් පිළිබඳ ජනප්‍රවාද ගණනාවක් ඇත. ඒ හැම ප්‍රබන්ධයකින් ම ඔහුගේ ශ්‍රේෂ්ඨත්වය ම තහවුරු වීම වැදගත් වේ.

මහාකවි කාලිදාසයන් භාරතයේ විසූ කාලය පිළිබඳ විප්‍රතිවාදයන් පවතී. වික්‍රමාදිත්‍ය රාජ්‍ය සභාවෙහි සිටි නවපණ්ඩිතරත්නයන් අතර පඬිරුවනක් ලෙස මොහු සිටි බවට මත පළ වේ. වික්‍රමාදිත්‍ය නමින් සුවිශේෂ රජකෙනෙකු පිළිබඳ භාරතීය ඉතිහාසය සාක්ෂි නො සපයයි. එහෙත් වික්‍රමාදිත්‍ය යන ගෞරවනාමොපලක්ෂිත රජවරුන් ගණනාවක් වාසය කර ඇත. ඒ අතර II චන්ද්‍රගුප්ත රාජ්‍යොදය (380 - 451 ක්‍රි: ව:) වැදගත් වේ. විලියම්ස් ජොන්ස්, ඒ. බී. කීත්, වාසුදේව්, විෂ්ණු මිරාශි, රාම් ගුප්ත යනාදි පඬිවරු කාලිදාසයන් මේ රජ දවස වාසය කළ බව පිළිගනිති. කාලිදාසයන්ගේ කාලය කුමාරගුප්ත (414 - 455) ස්කන්ධ ගුප්ත (455 - 467) රජ දවස දක්වා, පවතින්නට ඇත. මේ අනුව කාලිදාසයන් ක්‍රි: ව: 4 හා 5 යන ශතවර්ෂයන්හි වාසය කර ඇති බව විශද වේ. මහාකවි කාලිදාසයන්ගේ නමට ග්‍රන්ථ ගණනාවක් පවරා ඇත. එහෙත් මධ්‍යස්ථ වියත්හු පහත සඳහන් ග්‍රන්ථ 07 පමණක් ඔහුගේ ම නිර්මාණ ලෙස පිළිගනිති.

| | |
|---|---|
| මහාකාව්‍යද්වය | 01. කුමාරසම්භව<br>02. රඝුවංශ |
| ඛණ්ඩකාව්‍යද්වය | 01. ඍතුසංහාර<br>02. මේඝදූත |
| දෘශ්‍යකාව්‍යත්‍රය | 01. අභිඥාන ශාකුන්තල<br>02. මාලවිකාග්නිමිත්‍ර<br>03. වික්‍රමෝර්වශී |

මහාකවි කාලිදාසයන්ගේ හෘදයග්‍රාහී, රසභාවපූර්ණ, ප්‍රශස්තතම දෘශ්‍යකාව්‍ය ග්‍රන්ථය අභිඥාන ශාකුන්තලය යි.

**'කාව්‍යෙෂු නාටකං රම්‍යං නාටකේෂු ශකුන්තලා**
**තත්‍රාපිච චතුර්ථො'ඞ්කස්තත්‍ර ශ්ලෝකචතුෂ්ටයම්'**

අංක 07 කින් සුසැදි මෙය, මහාභාරතයෙහි ශාකුන්තලෝපාඛ්‍යානය ආශ්‍රයෙන් වස්තු තේමාව සකසා ගෙන ඇත. දුෂ්‍යන්ත මහරජු හා ශකුන්තලා මෙහි ප්‍රධාන කථා නායකයා හා නායිකා දෙපළයි. අග්නිමිත්‍ර රජු හා මාලවිකා අතර ඇතිවෙන ප්‍රේමාවෘත්තාන්තය ප්‍රධාන වස්තු විෂය කරගත් මාලවිකාග්නිමිත්‍රය ද හෘදයංගම දෘශ්‍ය කාව්‍යයකි. අංක 05 කින් සමන්විත මෙය, කාලිදාසයන්ගේ පළමු දෘශ්‍යකාව්‍යය ලෙස පිළිගැනේ. පුරූරවස් රජු හා උර්වශී අප්සරාව අතර ප්‍රේමය වස්තු තේමාව කරගත් වික්‍රමෝර්වශී නාට්‍යයෙහි අංක 05කි. මේ දෘශ්‍යකාව්‍යය අද්භූත රසයෙන් පිරී ඇත.

ඍතුසංහාරය ඛණ්ඩ කාව්‍යයකි. එහි ග්‍රීෂ්ම, වර්ෂා, ශරත්, හේමන්ත, ශිශිර හා වසන්ත යන ඍතු හය වර්ණනා කෙරේ. ශෘංගාර රසයෙන් ආලේපිත මෙය කාලිදාසයන් සිය ජීවිතයේ මුල් අවධියේ හෙවත් යෞවන සමයෙහි දී රචනා කරන ලද කාව්‍යයක්

බව විද්වත් සම්මුතියයි. පෙරදිග සාහිත්‍ය වංශයෙහි හෘදයංගම, සාහිත්‍ය ප්‍රේමීන් විසින් දෘඪාසක්ත බවින් ප්‍රතිගෘහීත අමරණීය විරහගීතය වන්නේ මේඝදූතයයි. සංස්කෘත සාහිත්‍ය ක්ෂේත්‍රයට අභිනව කාව්‍ය සම්ප්‍රදායයක් සම්ප්‍රදානය කරලීමේ උත්තුංග කාර්යයක් වන මෙය ද ඛණ්ඩකාව්‍යයකි. පූර්වමේඝ හා උත්තරමේඝ යැයි මෙහි කොටස් දෙකකි. වැහි වළාවක් අත ස්වකීය පෙම්වතියට හසුනක් යැවීම ප්‍රධාන වස්තු විෂය කොටගෙන **"මන්දාක්‍රාන්ත"** නම් විචිත්‍ර වෘත්තයෙන් රචනා කරන ලද්දකි.

සර්ග 19කින් පරිමිත රඝුවංශය මහාකාව්‍යයකි. දිලීප, රඝු, අජ, දශරථ හා රාම යන සූර්යවංශික රජ පෙළපත පිළිබඳ ව මෙහි වර්ණිතා වේ. ''**කාර්තිකෝත්පත්ති**'' නමින් ද චිරප්‍රසිද්ධ, කුමාරසම්භව මහාකාව්‍යයෙහි සර්ග 17කි. වීර රසය ප්‍රධාන රසය වන කුමාරසම්භවයෙහි ශිව හා පාර්වතී දෙදෙන ප්‍රධාන කථානායක - නායිකා යුවළයි. සූරී, වල්ලභදේව, බාණ භට්ට, ජයදේව, රාජශේඛර යන විද්වත්හු කාලිදාසයන් මහත් සේ අගය කළහ. '**උපමා කාලිදාසස්‍ය**' යනුවෙන් උපමා යෝජනයෙහි අසහාය සූරයා කාලිදාස බව රාජශේඛර පවසා ඇත.

ඉංග්‍රීසි භාෂාවට පළමුවෙන් පරිවර්තනය කරන ලද දෘශ්‍යකාව්‍ය වනුයේ අභිඥානශාකුන්තලයයි. ඉංග්‍රීසි පරිවර්තනය මත ජර්මන් භාෂාවට මේ නාට්‍ය පරිවර්තනය කර ඇත. **මහාකවිකාලිදාස** (1955), **කවිරත්න කාලිදාස** (1983), නමින් චිත්‍රපට දෙකක් නිෂ්පාදනය කර ඇති අතර **ස්ත්‍රී** නමින් චිත්‍රපටියක් 1961 දී ද නිෂ්පාදනය කර ඇත. මෙය ශකුන්තලා නාට්‍යය තේමා කර ගෙන නිෂ්පාදනය වූවකි.

## දණ්ඩින්

ශ්‍රීමද්දණ්ඩීන් ක්‍රි: ව: 7 හෝ 8 යන ශතවර්ෂ අතර භාරතයෙහි විසූ කෘතහස්ත සාහිත්‍යධරයෙකි. මොහු සිංහවිෂ්ණු නම් පල්ලව රජුගේ කාව්‍ය සභාවෙහි සේවය කළ **දාමෝදර** කෙනෙකුගේ මී මුණුබුරෙකි. විදර්භ දේශය මොහුගේ ජන්ම භූමිය බව ඩී.කේ. ගුප්තා මහතා පවසයි. **දාමෝදර, කාඤ්චී** සමග විවාහ විය. ඔවුනට දරුවන් තිදෙනෙක් වූ අතර මධ්‍යමයා **මනෝරථ** විය. මනෝරථට පුත්‍රයන් සිව්දෙනෙක් සිටි අතර බාල ම දරුවා **වීරදත්ත** විය. ඔහු **ගෞරී** නම් බැමිණිය සමග විවාහ වූ අතර දියණිවරුන්ට අමතර ව ඔවුනට ලැබුණු පිරිමි දරුවා දණ්ඩින් විය. දණ්ඩින්ට අවුරුදු හතක් වූ කාලයෙහි මව මිය ගිය අතර ඊට ටික කලකට පසු පියා ද මියගොස් ඇත.

රාජශේඛර (920 ක්‍රි: ව:) දණ්ඩින්ගේ කාව්‍ය කුශලතාව - **දණ්ඩිනඃ පදලාලිත්‍යම්** - ප්‍රශංසාභිමුඛ ව අගය කර ඇත. ඔහු **කාව්‍යාදර්ශ** නම් කාව්‍ය විචාර ග්‍රන්ථය හා **දශකුමාරචරිත** නම් ගද්‍යකාව්‍ය රචනා කර ඇත. කුමාරවරුන් දශ දෙනෙකුගේ වීර ක්‍රියා හා දේශාටන ප්‍රවෘත්ති දශකුමාරචරිතයෙහි වර්ණිතය. ගණිකාවන්, මංපහරන්නන්, සොරුන්, යක්ෂයන්, ප්‍රේතයන්, සූදු කරුවන් ආදි විවිධ චරිත මෙන් ම මිනීමැරුම්, යුධසංග්‍රාම ද මෙහි අන්තර්ගත වේ. **රාජවාහන, සෝමදත්ත, පුෂ්පෝද්භව, අපහාරවර්මන්, උපහාරවර්මන්, අර්ථපාල, ප්‍රමති, මිත්‍රගුප්ත, මන්ත්‍රගුප්ත, විශ්‍රැත** යනු කුමාරවරුන් දශදෙනා ය. **රාජවාහන** හා **අවන්තිසුන්දරී** ප්‍රධාන කථා නායක-නායිකා දෙපළ යි. මෙහි පරිච්ඡේද **උච්ඡ්වාස** ලෙස නම් කර ඇත. පූර්වපීඨිකා, දශකුමාර චරිත හා උත්තරපීඨිකා වශයෙන් ද කොටස් තුනකි.

ශ්‍රීමද්දණ්ඩීන්ගේ කාව්‍යාදර්ශය සංස්කෘත කාව්‍යවිචාර ක්ෂේත්‍රය නියෝජනය කරන වැදගත් ම විචාර ග්‍රන්ථයක් ලෙස සැලකිය හැක. **කාව්‍යය පිළිබඳ කැඩපත** යනු මෙහි අර්ථයයි. එහි ප්‍රධාන පරිච්ඡේද තුනකි. අර්ථාලංකාර හා ශබ්දාලංකාර පිළිබඳ සෝදාහරණ විවරණයක් මෙහි අන්තර්ගතය. ශ්ලේශ, ප්‍රසාද, සමතා යනාදි දශගුණ හඳුන්වා දීම ද කතුවරයා විසින් සිදුකර ඇත. ගෞඩී, වෛදර්භී ආදි රීති පිළිබඳ මනා විශ්ලේෂණයක් ද මෙහි ඇතුළත් වේ. දණ්ඩීන් වඩා රුචිකත්වයක් දක්වා ඇත්තේ වෛදර්භී රීතියට ය. **සියබස්ලකර** නම් සිංහල කාව්‍ය විචාර ග්‍රන්ථයට ද **සුබෝධාලංකාර** නම් පාලි කාව්‍යවිචාර ග්‍රන්ථයට ද ගුරු අත්පොත වී ඇත්තේ කාව්‍යාදර්ශය යි. භට්ටි කවියාගේ රාවණවධ මහාකාව්‍යයෙහි කාව්‍යාදශීයෙහි බලපෑම තදින් කැපී පෙනේ.

**बहुविघ्नास्तु सदा कल्याणसिद्धयः।**

**යහපත සිදු කිරීමේ දී බොහෝ උවදුරු ඇත.**

**बुद्धिर्नाम च सर्वत्र मुख्यं मित्रं न पौरुषम्।**

**පෞරුෂයට වඩා බුද්ධිය සියලු තැන ප්‍රධාන මිතුරා ය.**

**भवितव्यं भवत्येव कर्मणामीदृशी गतिः।**

**සිදුවිය යුත්ත සිදුවේ. කර්මයන්ගේ ස්වභාවය එබඳු ය.**